# කොහොඹා කංකාරියේ රංග ප්‍රවර්ග

**මහින්ද විමලසිරි** [1]

කොහොඹා කංකාරිය වූ කලී හැටපස් මංගල්‍යයකින් වර්තමානයට ශේෂ වී ඇති සංස්කෘතික උරුමයකි. එය උඩරට නර්තන සම්ප්‍රදායේ ප්‍රධානතම ශාන්තිකර්මය බවත් එකී සම්ප්‍රදායේ කෝෂ්ඨාගාරය වන බවත් පර්යේෂණ මඟින් අනාවරණය කර තිබේ. එසේ වුව ද කොහොඹා කංකාරියේ සමස්ත කාර්යාවලිය පිළිබඳ ගැඹුරින් අධ්‍යයනය කරන කල්හි පැහැදිලි වන්නේ එය භරතමුණිගේ නාට්‍ය සංකල්ප, මූලධර්ම මුල්කොට ගනිමින් ඓතිහාසික කතා පුවතක් නිරූපණය කරන විදග්ධ රංග කාර්යයක් බව ය. ඒ බව සාම්ප්‍රදායික සිංහල නාට්‍ය ආකෘතිය හා කොහොඹා කංකාරි ශාන්තිකර්ම රංග ආකෘතිය සංසන්දනය කිරීමෙන් හේතුප්‍රත්‍ය සහිත ව තහවුරු කළ හැකි ය. ශ්‍රී ලාංකේය නර්තන හා රංග කලා පිළිබඳ අධ්‍යයන යටත්විජිත සමයේ මෙහි සේවය කළ යුරෝපීය සිවිල් සේවකයින්, මිෂනාරීන් සහ ශාස්ත්‍රඥයින් විසින් ආරම්භ කර තිබේ. ඔවුහු දේශීය රංග කලා ඇගැයුමට ලක්කර ඇත්තේ යුරෝපීය රංග කලා මූලධර්ම පදනම් කොට ගෙන ය. එකී ඇගැයුම් යුරෝකේන්ද්‍රීය (Eurocentric) හා ජනවර්ගකේන්ද්‍රීය (Ethnocentric) දෘෂ්ඨි කෝණයෙන් සිදු කළ අධ්‍යයන බව රංග කලා විචාරයේ දී හඳුනාගත හැකි ය. මේ නිසා මුල් යුගයේ දී කාරිය, කංකාරිය, කොහොඹා කංකාරිය, කොහොඹා යක්කම ආදි නාමවලින් හඳුන්වන ලද රංගකාර්යයන් ශාන්තිකර්ම (Rituals) බවට නිර්වචනය කර තිබේ. එමෙන් ම ඒකදේවවාදී ආගමික සංකල්පයෙහි නිමග්න ව සිටි යුරෝපීයන් උඩරට වෙස් නැටුම යක්ෂ නැටුම් (Devil dance) ලෙස ද සිංහලයින්ගේ යක්ෂ නැටුම් (Sinhalese Devil dance) යනුවෙන් ද හඳුන්වා තිබේ. එකී ඇගයුම් හා නිර්වචන නිවැරදි කිරීමට යටත්විජිත යුගයේ රාජකීය ආසියාතික සංගමයට දීර්ඝ ලිපියක් Kandyan Music නමින් පළ කල මහවෙලතැන්න බණ්ඩාර මෙන්ම ආතර් සිල්වා වැනි ප්‍රභූන්ටත් සිංහල ගැමි නාටකය ලියූ එදිරිවීර සරච්චන්ද්‍රටත් ඉන්පසුව නර්තන ක්ෂේත්‍රයේ බිහි වූ විදග්ධයින්ටත් මග හැරී ඇති බව අධ්‍යයනය කිරීමේ දී පැහැදිලි වේ. යුග ගණනාවක ඇවෑමෙන් අද්‍යතනයේ අප අත්විඳින්නේ කොහොඹා කංකාරියේ මූලික ස්වරූපය පවා හඳුනාගැනීමට අපහසු අවභාවිත හා විකෘතිකරණයට හසු වූ පරිහානියට පත් රංග කාර්යයකි. මුඛ පරම්පරාගත ව පිය පුතු හෝ ගුරු ගෝල පදනමින් පාරම්පරික ව පැවතීම හේතුවෙන් ඒ පිළිබඳ ශාස්ත්‍රීය අවබෝධය ක්‍රමයෙන් අවම වීම ද ඊට බලපා ඇති ප්‍රධාන හේතු සාධකයකි. එමෙන්ම එකී ස්වභාවය පිළිබඳ අවබෝධයකින් තොරව නූතන ස්වරූපය පමණක් නිරීක්ෂණය කර පර්යේෂණ හා ප්‍රකාශන සිදු කිරීම මඟින් ද මෙම රංග කාර්යයෙහි නිවැරදි දිශානතිය වසන් වී ඇත. එබැවින් කොහොඹා කංකාරිය යනු අධිභෞතික සංකල්ප උදෙසා අභිචාර විධි ඉටු කෙරෙන ප්‍රාකෘතික කාර්යාවලියක් නොවනබව තහවුරු කර එහි අන්තර්ගත සම්භාව්‍ය රංග ආකෘති හඳුනාගැනීම මෙම පර්යේෂණ කාර්යයේ ප්‍රධාන අරමුණ වේ. කොහොඹා කංකාරිය යනු ශාන්තිකර්මයක් ද? නැතහොත් රංග කාර්යක් ද? යන්න මෙම පර්යේෂණයේ ගැටලුව යි. උපන්‍යාසය වනුයේ කොහොඹා කංකාරිය යනු ශාන්තිකර්මයක් නොව භරතමුණිගේ නාට්‍ය ශාස්ත්‍රය පදනම් ව සකස්කරන ලද රංගයක් බවයි. එමගින් එම

---

[1] ජ්‍යෙෂ්ඨ කථිකාචාර්ය, නර්තන හා නාට්‍ය කලා පීඨය, සෞන්දර්ය කලා විශ්වවිද්‍යාලය

රංගයේ ප්‍රතීයමාන නෘත්‍ය නාටක, කවි නළු, නාට්‍ය හෙවත් යක්කම්, වාර්තා රංග ආදි රංග ප්‍රවර්ග වෙන්කොට හඳුනාගැනීමට ද අපේක්ෂිත ය. මෙම පර්යේෂණ කාර්යයේ ක්‍රමවේදය ලෙස ලිඛිත හා අලිඛිත මූලාශ්‍රය අධ්‍යයනය යොදාගනු ලැබේ. ලිඛිත තොරතුරු අධ්‍යයනයේ දී ප්‍රාථමික මූලාශ්‍රය ලෙස වංසකතා මෙන් ම කොහොඹා කංකාරි ශිල්පීන් සතු අත්පිටපත්, පුස්කොළ පොත් ද ද්විතියික මූලාශ්‍රය ලෙස පර්යේෂණ සහ ප්‍රකාශන ද යොදාගනු ලැබේ. අලිඛිත මූලාශ්‍රය ලෙස නිරීක්ෂණ, සහභාගිත්ව නිරීක්ෂණ, සම්මුඛ සාකච්ඡා යොදාගැනෙයි. එම ක්‍රමවේද මඟින් ලබාගන්නා දත්ත ගුණාත්මකව විශ්ලේෂණය කර, අවසන් නිගමනවලට එළඹීමට අපේක්ෂිත ය.

**ප්‍රමුඛ පද** - කංකාරිය, නාට්‍යශාස්ත්‍රය, යුරෝකේන්ද්‍රීය, ජනවර්ගකේන්ද්‍රීය, ශාන්තිකර්ම

# නර්තනය, තාක්ෂණය සහ අන්තර්ජාල රැකියා අවස්ථා

**ටී.ඩබ්.ජී.ඩී සඳරුවන්** [1]

රැකියාවක්, ආදායම් මාර්ගයක් යනු මේ මොහොතේ අප බොහෝ දෙනෙක් මුහුණු දෙන ප්‍රධාන ගැටලුවකි. පසුගිය වසර 2-3 ක කාල පරාසයේ දී කොවිඩ් 19 වසංගත තත්ත්වය, හමුවේ සිදු වූ ආර්ථික පසුබෑම මෙහි ලා ප්‍රමුඛ සංධිස්ථානයක් විය. මේ නිසා ම බොහෝ දෙනෙකුගේ රැකියා අවස්ථා අහිමි කරමින් බලපෑම් එල්ල කරන ලදී. ශ්‍රී ලංකාවට ද එය එසේ ම ය. සෞන්දර්ය විෂයන් හදාරනන් මෙන් ම, එය වෘත්තීයමය වශයෙන් සිදු කරන්නන්ට මෙම බලපෑම් විසින් එල්ල කරන ලද්දේ අනපේක්ෂිත අත්දැකීමකි. තමන්ගේ වෘත්තීය සිදු කරගැනීමට නොහැකි වූ ඔවුන් මේ නිසා තම නිවෙස්වලට ම මෙම කාලයේ දී සීමා විය. සැලකිය යුතු කරුණක් වන්නේ මෙම කාලසීමාවේ දී තාක්ෂණය උපයෝගී කරගනිමින් බොහෝ දෙනෙකු නිවසේ සිට මුදල් ඉපැයිය හැකි ආදායම් මාර්ග කරා යොමුවීමට උත්සහ දැරීම යි. මෙය ශ්‍රී ලාංකිකයන්ට යම් නුහුරු අත්දැකීමක් වූවත්, තොරතුරු තාක්ෂණය පිළිබඳ හසුරවාගත හැකි දැනුමෙන් පුද්ගලයින් ඒ සඳහා යොමුවිය. මෙහි දී අන්තර්ජාලය හරහා මුදල් සෙවීම පිණිස නොයෙකුත් ක්‍රම අත්හදා බලන්නට ඔවුහු පෙලඹුණහ. නමුත් නර්තනය වෘත්තීය මට්ටමෙන් සිදුකරන සහ එය විශ්වවිද්‍යාල මට්ටමෙන් හදාරන විද්‍යාර්ථීයන්ට එකී රැකියා අවස්ථා පිළිබඳ අවබෝධයක් නොමැතිවීම හේතුවෙන් මෙම කාලසීමාව ඔවුන්ට අතිශය දුෂ්කර කාලසීමාවක් බවට පත්වීමයි. ඒ අනුව, පර්යේෂණ ගැටලුව ලෙස පෙන්වාදිය හැක්කේ නර්තනය, උසස් අධ්‍යාපනය ලෙස හදාරා රැකියාවක් බලාපොරොත්තු වන විද්‍යාර්ථීන්, උපාධිධාරීන් නැත්නම් වෘත්තීය මට්ටමෙන් එය පවත්වාගෙන යන පුද්ගලයන්ට මාර්ගගත (Online) අලෙවිකරණය (Digital Marketing) පිළිබඳ තාක්ෂණික දැනුම ලබා දී එය අර්ධ කාලීන ආදායම් මාර්ගයක් හෝ පූර්ණ කාලීන ආදායම් මාර්ගයක් ලෙස සිදු කළ හැකි ද යන්න යි. මේ සඳහා ආධුනික වන අයෙකුට ඒ සඳහා සපුරාලිය යුතු සුදුසුකම් මොනවාද යන්න අධ්‍යයනය කිරීමත්, එසේ යොමු වී ඇති, මේ වනවිට ඒ හරහා යම් ආදායමක් ලබන්නන් සහ එසේ ඉපයිය හැකි ආදායම් මාර්ග පිළිබඳ පෞද්ගලිකව ම පර්යේෂණය කොට අත්හදා බැලීම යන පර්යේෂණ ක්‍රමවේද ඔස්සේ මේ සඳහා දත්ත සහ තොරතුරු රැස් කරගන්නා ලදී. පර්යේෂණයේ ප්‍රමුඛ අරමුණ වන්නේ තමා සතු දැනුම සහ කුසලතා භාවිතයට ගනිමින් ඊට තාක්ෂණය ද මුසුකරමින් තමන් සතු දැනුම සංරක්ෂණය කරමින් ඒ ඔස්සේ අන්තර්ජාල නිදහස් රැකියා අවස්ථා (Freelancer) උත්පාදනය සිදු කළ හැකි බව පෙන්වාදීම ය.

**ප්‍රමුඛ පද** - නර්තනය, තාක්ෂණය, අන්තර්ජාල (නිදහස්) රැකියා අවස්ථා, ඩිජිටල් අලෙවිකරණය,

[1] බාහිර කථිකාචාර්ය, නර්තන, රංගකලා ඉතිහාසය හා සිද්ධාන්ත අධ්‍යයනාංශය, නර්තන හා නාට්‍ය කලා පීඨය, සෞන්දර්ය කලා විශ්වවිද්‍යාලය danushka.academic@gmail.com

## නිර්මාණාත්මක නර්තන කලාව සඳහා ආලෝක තටාක නිර්මාණකරණය

**අජිත් රෝහණ කුමාර** [1]

රංගභූමියක සිදුවන ක්‍රියාවන් සඳහා ප්‍රේක්ෂකයන්ගේ අවධානය යොමුකරන්නේ රංගාලෝකකරණය යි. නර්තනයේ විවිධ න්‍යාය හා ව්‍යුහයන් දක්නට ලැබෙන අතර, ලාංකේය නිර්මාණාත්මක නර්තනය සාම්ප්‍රදායික නර්තනයේ ව්‍යුහගත ආකෘතීන්ගෙන් බැහැරව ශරීර චලනයේ කලාත්මක බව ඉස්මතු කිරීමට භාවිත කිරීම දක්නට ලැබෙයි. ආලෝක නිර්මාණකරණය සංකීර්ණ වන්නේ රංගන ශිල්පින් රැසක්, වේගවත් චලන, රංගරටා බහුල වශයෙන් භාවිත වීමයි. නර්තනයේ දර්ශන අංක සහ රංග රටා වෙනස් ආකාරයේ ආලෝක නිර්මාණය මනෝභාවයන් වෙනස් කිරීම ඵලදායි ක්‍රමයක් බව පිළිගැනීමයි. සාම්ප්‍රදායික Front light, Side light, Back light, Foot light, Diagonal light, Spot light යනාදී ක්‍රමවේද අතරට ආලෝක තටාක නිර්මාණකරණය මගින් රංගරටා සඳහා අපේක්ෂිත මනෝභාවය ලබාදිය හැකිදැයි විමසීම මෙහි පර්යේෂණ ගැටලුව වේ. ආලෝක තටාක ක්‍රමය යනු රංගරටාවක් තුළ නිශ්චිත කාලය හා අවකාශය මත ආලෝක පහන් කීපයක් මගින් තටාකයක් නිර්මාණය කිරීම ය (Light pool). එය හුදෙක් තාක්ෂණික ක්‍රියාවලියක් නොවන අතර තාක්ෂණය, නිර්මාණාත්මක චින්තනය හා දර්ශනය විෂයය එක්ව ගොඩනැගෙන ශිල්ප ක්‍රමයක් වෙයි. තව ද සාම්ප්‍රදායික ආලෝක ශිල්ප ක්‍රම මගින් නර්තන නිර්මාණ සංකල්ප හා ප්‍රවේශයන්ට ඒකාකාරී ස්වභාවයක් මතුවන බව නිරීක්ෂණය වෙයි. එය අවම කරමින් නර්තනයට කලාත්මක හා විචිත්‍ර බවක් ලබාගැනීමට ආලෝක තටාක ක්‍රමය යොදාගත හැකි බව මෙහි උපකල්පනයි. ගුණාත්මක පර්යේෂණය ක්‍රමවේදය යටතේ සහභාගිත්ව නිරීක්ෂණ, ක්ෂේත්‍ර අධ්‍යයනය, විද්‍යුත් මූලාශ්‍රය මගින් දත්ත ලබා ගැනිණ. රංගාලෝක සැලසුම්කිරීමේ දී සාම්ප්‍රදායික රංගාලෝක ශිල්පක්‍රම සමග ආලෝක තටාක ක්‍රමය සම්මිශ්‍රව සිදු කිරීම මඟින් විෂයේ ප්‍රගමනයට බලපෑමක් ඇති කිරීම පර්යේෂණයේ අරමුණ ය. ආලෝක පහන්වල දිශාවන් සහ නිර්මාණ සංකල්පය, රංගවස්ත්‍ර සහ වර්ණ ආලෝක තටාක නිර්මාණකරණය සඳහා බලපාන බව මෙම පර්යේෂණය මඟින් නිගමනය කළ හැකි ය.

**ප්‍රමුඛ පද**: Dance Recitals, Light Pool, Light Technology, Stage Lighting.

[1] කථිකාචාර්ය, උඩරට නර්තන අධ්‍යයනාංශය, සෞන්දර්ය කලා විශ්වවිද්‍යාලය

# උඩරට බෙර වාදන සම්ප්‍රදාය තුළ දක්නට ලැබෙන යුගල අලංකාර බෙර වාදනයෙහි විශේෂතා

(මූලික බෙර සරඹයක් ඇසුරෙනි)

**ජේ. ජයන්ත පුෂ්පකුමාර** [1]

දේශීය සිංහල නර්තන සම්ප්‍රදායයන් ත්‍රිත්වය තුළ එකිනෙක සම්ප්‍රදාය හා බැඳී පවතින වාදන සම්ප්‍රදායක් දක්නට ඇත. ඒ අතරින් උඩරට බෙරවාදන සම්ප්‍රදාය අද්විතීය ස්ථානයක් ළඟා කරගෙන ඇති බව කිව මනාය. එයින් නර්තනය සමග ඍජු සම්බන්ධයක් වාදනය සතුව පැවතිය ද නර්තනයෙන් වියුක්තව යෙදෙන වාදන සම්ප්‍රදායක් භාවිතයේ ඇති බව වටහා ගත යුතුය. මූලික බෙර සරඹයක් ඇසුරෙන් යුගළ අලංකාර පද වාදනය කළ හැකි ද යන්න මෙහි පර්යේෂණ ගැටලුව වේ. පාදක කරගත් සරඹය පර්යේෂණාත්මක විධිමත් ක්‍රමවේදයක් යටතේ භාවිතයට ගනිමින් මෙකී යුගළ අලංකාර වාදන ක්ෂේත්‍රයේ අභිවෘද්ධිය සඳහා දායක කරගැනීම. මෙහිදී පර්යේෂණයට බඳුන් කරනු ලබන්නේ උඩරට බෙර යුගළයක් භාවිතයට ගෙන අලංකාර පද වාදනය කිරීමේ දී මූලික බෙර සරඹයක ක්‍රියාකාරිත්වය කෙබඳු ස්වරූපයක පිහිටා තිබේ ද යන්න පරීක්ෂා කිරීමයි. එමගින් තනිතිත/දෙතිත /තුන්තිත /සිව්තිත සහ පස්තිත ආදි වශයෙන් විවිධ තාල රූප මත අදාළ මූලික සරඹයේ ක්‍රියාකාරිත්වය හඳුනාගැනීමට අපේක්ෂා කළ අතර, එමගින් කර්ණ රසායන අලංකාර පද කොටස් ලය ගුණ කිරීම් සහිත වාදනයේ දී මතුවන බවත් එකී පද කොටස් බෙදී යාම ප්‍රස්තාර කළ හැකි බවත් නිගමනය කළ හැකිය.

**ප්‍රමුඛ පද**

උඩරට බෙර වාදනය, යුගල බෙර වාදනය, මූලික බෙර සරඹ, අලංකාර පද වාදනය.

[1] ජ්‍යෙෂ්ඨ කථිකාචාර්ය, වාද්‍ය සංගීත අධ්‍යයනාංශය, නර්තන හා නාට්‍ය කලා පීඨය, සෞන්දර්ය කලා විශ්ව විද්‍යාලය uvpa.jayantha@gmail.com

# සබරගමු නර්තන කලාවේ වත්මන් ප්‍රාසංගික මුහුණුවර

ඊ. එම්. එන්. ඩී ජයසේන [1]

සබරගමු නර්තන සම්ප්‍රදාය යනු දේශීය නර්තන සම්ප්‍රදායන් අතරින් ප්‍රධානත ම නර්තන සම්ප්‍රදායකි. ශාන්තිකර්ම සහ සමන් දේවාල පෙරහැර ඇසුරු කරගනිමින් අතීතයේ දී විකාසනය වූ මෙම සම්ප්‍රදායයේ ප්‍රාසංගික මුහුණුවර ක්‍රමිකව වර්ධනය ආරම්භ වන්නේ 1970 දශකයෙන් පසුව ය. එතැන් පටන් වර්තමානය දක්වා සබරගමු නර්තන සම්ප්‍රදායේ ප්‍රාසංගික මුහුණුවර ශාස්ත්‍රීය සහ ප්‍රාසංගික නර්තන ක්‍රමවේද ඔස්සේ ක්‍රමිකව වර්ධනය වෙමින් පවතී. ඕනෑ ම ශාස්ත්‍රීය නර්තන සම්ප්‍රදායක ප්‍රාසංගික මුහුණුවර පිළිබඳ අවධානය යොමු කිරීමට පෙර එහිලා වූ ශාස්ත්‍රීය සන්දර්භය හා ප්‍රායෝගික විෂය දැනුම පිළිබඳ මනා අවබෝධය වැදගත් වේ. වියතුන් රැසක් වරින්වර මෙම නර්තන සම්ප්‍රදාය ඉස්මතු කරලීමෙහිලා උත්සුක වූ බව පෙනී යයි. විවිධ හේතු නිසා අභාවයට යමින් පැවති සබරගමු නර්තන කලාව වර්තමානයේ ප්‍රචලිත වෙමින් පවතින නර්තන සම්ප්‍රදායක් බවට පත් වීමට එය ප්‍රබල හේතුවක් විය. පර්යේෂණ ගැටලුව වූයේ සබරගමු නර්තනයේ ප්‍රාසංගික මුහුණුවර කෙරෙහි එකී විෂය පද්ධතියේ සාම්ප්‍රදායික දැනුම සහ ප්‍රායෝගික කුසලතා භාවිතය සිදු කළ යුත්තේ කෙසේ ද? යන්න යි. සබරගමු නර්තන ක්ෂේත්‍රයේ ප්‍රාසංගික මුහුණුවර අධ්‍යයනය කිරීමේ දී වර්තමානයේ ඒ වෙනුවෙන් (උදාහරණ වන්නම් ඇසුරෙන්, ශාස්ත්‍රීය ගායන, ශාස්ත්‍රීය පද කොටස් ඇසුරෙන්) නිර්මාණය වූ නිර්මාණ අධ්‍යයන නැරඹීමත් (වීඩියෝපට), නිර්මාණ කාර්යයන්ට දායක වීමත්, ඒවායෙහි ශාස්ත්‍රීය සන්දර්භය අධ්‍යයනය කිරීමත්, එසේ ම ප්‍රාසංගික මුහුණුවර ඔප්නැංවීම සඳහා ඊට නිර්මාණකරණයෙන් මෙන් ම, සම්පත් දායකත්වය සැපයූ වත්මන් ශිල්පීන්, නිර්මාණකරුවන් සමඟ සම්මුඛ සාකච්ඡා පැවැත්වීමත්, ඒ ඇසුරෙන් ලියැවුණු ලිඛිත සාධක අධ්‍යයන කිරීමත් මෙහිලා සිදුකරන ලදී. මෙම පර්යේෂණයේ දී නිරීක්ෂණය වූයේ සබරගමු නර්තන සම්ප්‍රදාය ඇසුරෙන් ප්‍රාසංගික නර්තන නිර්මාණයේ දී එම සම්ප්‍රදායේ ශාස්ත්‍රීය අවබෝධය සහ දැනුම අතිශය වැදගත් බව යි.

**ප්‍රමුඛ පද** - ප්‍රසංගික නර්තනය, සබරගමු වන්නම්, නිර්මාණකරණය, සම්ප්‍රදාය, ශාස්ත්‍රීය

[1] බාහිර කථිකාචාර්ය, සබරගමු නර්තන අධ්‍යයනාංශය, නර්තන හා නාට්‍ය කලා පීඨය, සෞන්දර්ය කලා විශ්වවිද්‍යාලය nayanidanushka18@gmail.com

# Session 05

| ID | Topic | Author |
|---|---|---|
| **MU/IRS/A/18** | A Practical Study of the Peculiarities of Khyals by Pandit Ramdas Mishra (Bade Ramdas) of Banaras Gharana. | D.A.C. Atapattu |
| **MU/IRS/A/34** | සරච්චන්ද්‍ර නාට්‍ය සංගීත භාවිතාව | මහනාම වික්‍රමසිංහ |
| **MU/IRS/A/44** | ගාන සමය සංකල්පයට නව ප්‍රවේශයක් | ආර්. පී. මහින්ද සෙනෙවිරත්න |
| **MU/IRS/A/28** | A Study on How Relaxed Technical Approaches Affect Perceived Tension and Performance in Pianists | Pavithra M. Madapatha, Dr. Priyeshni P. Perera. |
| **MU/IRS/A/08** | ශ්‍රී ලාංකේය ජනප්‍රිය සංගීත ක්ෂේත්‍රයේ තාල 'නාමකරණය' | ඒ. එම්. චන්ද්‍රලාල් අමරකෝන් |
| **MU/IRS/A/33** | අවනද්ධාක්ෂරවල මහප්‍රාණ භාවිතය | හේමන්තා මනෝහාරි රන්දුනුගේ |

# A Practical Study of the Peculiarities of Khyals by Pandit Ramdas Mishra (Bade Ramdas) of Banaras Gharana.

**D.A.C. Atapattu** [1]

As a composer, a talented *guru*, and a *Hindustani* vocalist, Pandit Ramdas Mishra (Bade Ramdas) has done a significant contribution to Banaras *Gharana*. In examining the classical songs created by each vocal *Gharana* in India, the goal is to ensure the identity of the particular *Gharana* by demonstrating the unique characteristics of each *Gharana*. The research problem can be stated as “What are the unique characteristics and peculiarities of the Banaras *Gharana* displayed through the *Khyal* songs created by Pandit Ramdas?” The main aim of this research is to practically study and analyze the distinctive features of the *Khyal*s composed by Pandit Ramdas. This is a practice-based research. The *Khyals* related to various ragas composed by Pandit Ramdas were practically studied through this research and the various practical singing techniques used by him in composing those songs such as *kan*, *murki*, *gamak*, *andolan*, *meend*, *khatka*, etc., different compositions based on different *layakaris* (*Layadar Bandish* ex: *Tha Dugun Bandish*), melodious compositions, etc. were used as the basis for this research. The classical songs of Pandit Ramdas are very rare to find nowadays and the classical songs composed by Pandit Ramdas sung by his students Pandit Harishankar Mishra, Pandit Ganesh Prasad Mishra, Pandit Rajan Sajan Mishra, etc. are used to study the compositions of Bade Ramdas. Also, the books and articles written on Pandit Ramdas were used as sources to collect data for this research. *Khyals* composed by Pandit Ramdas are featured as *"Ramadasa ke Mohana Pyare, Ramadasa Vinthi Karata, Ramadasa ke Govinda Swami"* etc. It confirms that the song was composed by Pandit Ramdas. Most of the *khyal* songs created by Pandit Ramdas have a *taan* at the beginning and end of the *sthai* and at the end of the *antara*. Some songs are composed in *dugun*. In some songs, it is seen that the *sthai* is composed in *Trital* and the *antara* is made according to *ektal*. Many *Khyals* of Bade Ramdas are composed for God and most of the songs are very beautiful in terms of aesthetics.

**Keywords:** *Hindustani* Music, Banaras *Gharana*, *Khyal*, *Layadar Bandish*, *Tha Dugun Bandish*.

[1] Lecturer, Department of North Indian Music, Faculty of Music, University of the Visual & Performing Arts dacatapattu@gmail.com

# සරච්චන්ද්‍ර නාට්‍ය සංගීත භාවිතාව

**මහානාම වික්‍රමසිංහ** [1]

මනමේ සිංහබාහු හා ලෝම හංස යන නාට්‍යයන්හි එකිනෙකට වෙනස් වූ සංගීත භාවිතාවන් දැක්විය හැක. මනමේ හා සිංහබාහු නාට්‍ය ද්විත්වය සඳහා නාඩගම් තනු විවිධ ක්‍රමවේද අනුව යොදා ඇති ආකාරය හඳුනාගැනීම මෙම පර්යේෂණයේ අරමුණ වේ. පැරණි නාඩගම් තනු සඳහා නව පද රචනා යොදා එම චරිත එම අවස්ථාව නිරූපණය සඳහා ම යොදාගැනීම, පැරණි නාඩගම් තනු සඳහා නව පදරචනා යොදා වෙනත් චරිත සඳහා නාට්‍යෝචිත ලෙස භාවිත කිරීම, පැරණි නාඩගම් තනුවල රිද්ම රටා විවිධාකාරයෙන් වෙනස් කර උචිත අවස්ථා නිරූපණය සඳහා යොදාගැනීම, පැරණි නාඩගම් තනු ආභාස කොට ගෙන නව තනු නිර්මාණ යොදා අලංකරණය කිරීම දැකිය හැකි වන්නකි. ඉහත ක්‍රමවේද හතර මනමේ හා සිංහබාහු නාටක සඳහා භාවිත කර ඇති අතර, ලෝම හංස නාටකයේ දී අමරදේව විසින් නව තනු නිර්මාණය කර තිබෙනු දක්නට ලැබිණ. එහිදී සරච්චන්ද්‍රට අවශ්‍ය වූයේ නාඩගමත්, ඔපෙරාවත් අතර වන නිර්මාණයක් සකස් කරගැනීම ය. එහි දී බොහෝ විට හින්දුස්තානි රාග මෙන් ම නාඩගම් අංග ද, තබ්ලාව, කෝල් බෙර හා මද්දලය ද, විවිධ වූ කාෂ්ට තරංග හා නාද්‍ය තූර්ය වර්ග ද භාවිත වූ බව පෙනී යන්නකි. ඉහත නාට්‍ය තුන ම අයත් වන්නේ බේදාන්ත ගණයට බව ද නිගමනය කළ හැකි ය.

**ප්‍රමුඛ පද**

කෝල් බෙර, කාෂ්ට තරංග, නාද්‍ය තූර්ය, බේදාන්ත, ඔපෙරා

---

[1] ජ්‍යෙෂ්ඨ කථිකාචාර්ය, උත්තර භාරතීය සංගීත අධ්‍යයනාංශය, සංගීත පීඨය, සෞන්දර්ය කලා විශ්ව විද්‍යාලය

# ගාන සමය සංකල්පයට නව ප්‍රවේශයක්

**ආර්. පී. මහින්ද සෙනෙවිරත්න**[1]

ගාන සමය සංකල්පය උත්තර භාරතීය සංගීතයට විශේෂ වූ සංකල්පයක් ලෙස සැලකේ. රාග ගායනයට හා වාදනයට සුදුසු වේලාව ගාන සමය නමින් හැඳින් වේ. වර්තමානය වන විට බොහෝ ඉදිරිපත් කිරීම් මෙම ගාන සමය සිද්ධාන්තයන්ගෙන් පරිබාහිරව සිදු වන ආකාරය දක්නට ලැබේ. ගාන සමය සඳහා දිනයේ කාලය බෙදා වෙන් කොට ඇති අතර, එම කාලය සඳහා වෙන් කරන ලද ථාටවලට අයත් රාග ද දක්වා තිබේ. මෙම ථාට අනුපිළිවෙළින් ගාන සමයට අනුව බෙදා දක්වා තිබේ ද යන්න මෙහි පර්යේෂණ ගැටලුව වේ. එකී ථාට තිසි ක්‍රමවේදයකට අනුව වර්ගකර දැක්වීම පර්යේෂණ අරමුණ වේ. ගුණාත්මක පර්යේෂණ ක්‍රමවේදය යටතේ මුද්‍රිත ලිපි ලේඛන, සම්මුඛ සාකච්ඡා, ශ්‍රව්‍ය දෘශ්‍ය තැටි පටි ඇසුරින් දත්ත එක් රැස් කෙරිණි. ථාට අනුපිළිවෙළට අනුව ගාන සමය තුළ රාග බෙදා දැක්වීම සිදු කොට ඇති බව මෙකී අධ්‍යයනයේ දී අනාවරණය වූවකි.

**මුඛ්‍ය පද:** ගාන සමය, ස්වර, ථාට, හින්දුස්තානි සංගීතය

[1] ජ්‍යෙෂ්ඨ කථිකාචාර්ය, උත්තර භාරතීය සංගීත අධ්‍යයනාංශය, සංගීත පීඨය, සෞන්දර්ය කලා විශ්ව විද්‍යාලය

# A Study on How Relaxed Technical Approaches Affect Perceived Tension and Performance in Pianists

**Pavithra M. Madapatha, Dr. Priyeshni P. Perera**[1]

The pianoforte is one of the most popular instruments which can be learnt at any age all over the world. Much of the music that had been composed for various keyboard instruments in different periods of history is often performed in the present-day acoustic piano. As a result, many music students who enroll in piano study are regularly at risk of acquiring poor technical approaches at the keyboard, which often leads to physical tension, continuous pain, injuries and a slower rate of progress. Therefore, this pilot study explored on relaxed technical concepts which may help pianists to be more efficient technically on their performances. The purpose of this research was to examine how the application of an appropriate technical concept to a technically challenging extract of a piece of music affects perceived physical tension of piano students. Also sought to determine whether the implementation of physically relaxed approaches aid in diminishing physical tension and increasing performance level of piano students. 26 undergraduates who are studying piano at the University of Visual and Performing Arts, Colombo, Sri Lanka participated for this research study. The technical approach termed "The Underwave and Overwave Motion", a relaxed technical approach of Otto Ortmann and Dorothy Taubman was applied to minimize the physical tension. Participants of this research study were required to perform and record their playing in 2 days and the music tracks were adjudicated by five judges. The collected data were statistically analyzed by Shapiro-Wilk W test to verify the relationship between the use of piano technique, performance and perceived tension. The perceived tension difference was computed based on the collected data as "Performance Difference = Day 1 Performance – Day 2 Performance and Perceived Tension Difference = Day 2 Perceived Tension – Day 1 Perceived Tension". Based on the results, the application of appropriate technical approaches to technically challenging extracts of music minimized the perceived physical tension and also improved the tone quality of the performance.

**Key words:** Piano techniques, Relaxed approach, Perceived tension, Taubman approach

[1] Department of Western Music, University of the Visual and Performing Arts

# ශ්‍රී ලාංකේය ජනප්‍රිය සංගීත ක්ෂේත්‍රයේ තාල 'නාමකරණය'

**ඒ. එම්. චන්ද්‍රලාල් අමරකෝන්** [1]

ගීත සඳහා භාවිත කරනු ලබන 'තාල රටා' නිර්මාණය කරගැනීම උදෙසා උත්තර භාරතීය තාල පද්ධතියේ තාල පදනම් වී ඇත. යේකාව ගීත සඳහා එලෙසින් ම භාවිත කරන අවස්ථා (උදා:-ඣප්තාලය, රූපක් තාලය, දාදරා තාලය) මෙන්ම තාලයට අදාළ මාත්‍රා බෙදීම පාදක කොටගෙන නිර්මාණයට ගැලපෙන පරිදි 'රිද්ම රටා' සකසා ගැනීමේ අවස්ථා ද ඇත. ලය අනුව තාලයේ නාමකරණය සිදුවන අවස්ථා ද දැකිය හැක (උදා:- රූපක් - දීප්චන්දි). සංගීත නිර්මාණ පටිගත කිරීම්වල දී මෙන්ම ප්‍රාසංගික ඉදිරිපත් කිරීම්වල දී ද ගීතයට අදාළ තාලය හින්දුස්තානී තාල නාමයකින් හැඳින්වීම හෝ බටහිර ක්‍රමයට (Time signature) හැඳින්වීම හෝ සිදු කරයි. 'ඣප්තාලය' මාත්‍රා දෙකක් සහ මාත්‍රා තුනක් වශයෙන් බෙදෙන මාත්‍රා දහයක තාලයකි. මෙම තාල රටාව ව්‍යවහාරික සංගීතයේ දී 5/8 (Five-Eight) ලෙස හඳුන්වයි. එහෙත් බටහිර තාල ක්‍රමය අනුව ඉහත දක්වන ලද ඣප් තාලයට අදාළ තාල රටාව 5/4 (Five-Four) නම් time signature විය යුතුය. මෙම ගැටලුව පිළිබඳ විමර්ශනය කිරීම පර්යේෂණය මඟින් සිදු කොට ඇත. ග්‍රන්ථ පරිශීලනය කිරීම හා සම්මුඛ සාකච්ඡා මඟින් පර්යේෂණයට අවශ්‍ය දත්ත රැස්කොට ඇත. දාදරා තාලයේ ගති ලක්ෂණ හා තාලය භාවිත කරන ලය අනුව (මධ්‍ය ලය) බටහිර තාල ක්‍රමය අනුව ¾ Beat (Time signature) ලෙස හැඳින්වීම නිවැරදි වේ. එසේම කෙම්ටෝ තාලය වාදනයේ දී ඇතිවන ගති ලක්ෂණ හා ලය අනුව (දෘත ලය) 6/8 Beat (6/8 Time signature) ලෙස හැඳින්වීම නිවැරදි වේ. ඒ අනුව ඣප්තාලය සඳහා 5/4 Time signature හා රූපක් තාලය හා දීප්චන්දි තාලය සඳහා 7/4 Time signature ලෙස හැඳින්වීම හෙවත් නාමකරණය සිදු විය යුතු බව මෙම පර්යේෂණයේ දී සනාථ විය.

**මුඛ්‍ය පද** :- තාල රටා, ජාති, ව්‍යවහාරික සංගීතය, බටහිර Time signature, ලය.

[1] ජ්‍යෙෂ්ඨ කථිකාචාර්ය, උත්තර භාරතීය සංගීත අධ්‍යයනාංශය, සෞන්දර්ය කලා විශ්වවිද්‍යාලය
amarakoon.c@vpa.ac.lk

# අවනද්ධාක්ෂරවල මහප්‍රාණ භාවිතය

**හේමන්තා මනෝහාරි රන්දුනුගේ** [1]

මිනිසා විසින් නිපදවාගත් ප්‍රථම වාද්‍ය භාණ්ඩය සේ සැලකෙන අවනද්ධයේ විකාසනයත් සමඟ එහි භාවිතාව සඳහා වාදන විධි, අක්ෂර, පද, ප්‍රස්තාර වැනි දෑ නිර්මාණය කරගැනිණ. මෙම පර්යේෂණයේ අරමුණ මෙම අවනද්ධ වාද්‍ය භාණ්ඩ සඳහා යොදාගත් අක්ෂර පිළිබඳ අධ්‍යයනයක යෙදීමත් එහි සුවිශේෂතා හඳුනාගැනීමත් ය. ක්‍රිස්තු පූර්ව 2 වන සියවසේ රචිත භරතමුණි නාට්‍යශාස්ත්‍රයේ ලෝකයේ පැරණිම භාණ්ඩ වර්ගීකරණය ආතෝද්‍ය යනුවෙන් හඳුන්වා ඇති අතර, එම වර්ගීකරණය තත, අවනද්ධ, සුෂිර හා ඝන වශයෙන් දක්වා ඇත. පසුකාලයේ කරන ලද සියලු වර්ගීකරණ සඳහා පදනම් වූයේ මෙම වර්ගීකරණයයි. එම වර්ගීකරණ තුළ 'අවනද්ධ' යන කුලකය ඇතුළත් ව ඇති අතර, අවනද්ධ යනුවෙන් සමින් වැසුණු යන අර්ථය දනවයි. පෙරදිග අවනද්ධ ඉතිහාසයේ අක්ෂර සම්බන්ධව දැක්වෙන ප්‍රථම සඳහන හමුවන්නේ ද භරතමුණි නාට්‍යශාස්ත්‍රයේ ය. නාට්‍ය සංගීතයේ දී භාවිත කරන ලදැයි දැක්වෙන ත්‍රිපුෂ්කර, දර්දර හා පණව යන අවනද්ධවල වාදනය කළ අක්ෂර 16 ක් එහි දැක්වේ. නාට්‍ය ශාස්ත්‍රයේ දැක්වෙන මෘදංගය සඳහා මහප්‍රාණ හා අල්පප්‍රාණ අක්ෂර භාවිත වී ඇතත්, එම අක්ෂර උච්ඡාරණය සඳහා භාවිත කළ අතර, වාදනයේ දී ප්‍රබලව මහප්‍රාණ අක්ෂර හෝ අල්පප්‍රාණ අක්ෂර ධ්වනියේ පවතින වෙනස ශ්‍රවණය නොවන්නට ඇත. පසුකාලයේ දී භාවිත කරන ලද මෘදංගම් වැනි භාණ්ඩ සඳහා මෙම මහප්‍රාණ අක්ෂර භාවිතය දක්නට නොලැබීම ද විශේෂත්වයකි. මෙම පර්යේෂණයේ ගැටලුව වන්නේ නාට්‍යශාස්ත්‍රයට පසු කාලයේ දී පැවති අවනද්ධ භාණ්ඩ සඳහා මෙම මහප්‍රාණ අක්ෂර භාවිත වූවා ද යන්න ය. 13 වන සියවසේ දී සිදු වූ මෝගල් බලපෑමෙන් අනතුරුව භාවිතයේ පැවති මෘදංගය වැනි භාණ්ඩ දක්ෂිණ භාරතීය සංගීතය සඳහා යොදා ගත් අතර, උත්තර භාරතයේ පැවති මෘදංගය යම් යම් වෙනස්කම් සහිතව පාර්සියානු බලපෑම් ද සමග එම සංගීත පද්ධතිය තුළ හැඳින්වූයේ පඛාවජ් යන නාමයෙනි. මුල් ස්වරූපයෙන් වෙනස් ස්වරූපයක් ගත් මෙම භාණ්ඩ සඳහා අනන්‍යතාවකින් යුත් වාදන ශෛලි ද නිර්මාණය විය. භාවිතයේ පවතින දේශීය හා භාරතීය අවනද්ධයන්හි භාවිතවන අක්ෂර ඇසුරින් මෙම පර්යේෂණය සිදු කළ අතර, පඛාවජ්, තබ්ලා වැනි අවනද්ධ භාණ්ඩ සඳහා භාවිත වන මිශ්‍ර අක්ෂර භාවිතාවේ දී ධ්වනිය පාදක කොටගෙන මහප්‍රාණ අක්ෂර භාවිතාව සිදු ව ඇති බව නිරීක්ෂණය විය. දේශීය හා භාරතීය අවනද්ධ ඇසුරින් කරන ලද පර්යේෂණයේ දී වර්තමානය වන විට භාවිතයේ පවතින අවනද්ධ භාණඩ සඳහා යොදාගන්නා අක්ෂරවල සුලභ භාවිතාව පවතින්නේ අල්පප්‍රාණ අක්ෂර වන අතර, මහප්‍රාණ දැක්වෙන අවනද්ධාක්ෂර හමුවන්නේ පඛාවජය හා තබ්ලාව වැනි භාණ්ඩවල දැක්වෙන මිශ්‍ර අක්ෂර ධ්වනි තුළ පමණි.

**ප්‍රමුඛ අක්ෂර:** අවනද්ධ, නාට්‍යශාස්ත්‍රය, අක්ෂර, භාරතීය අවනද්ධ, දේශීය අවනද්ධ

[1] උත්තර භාරතීය සංගීත අධ්‍යයනාංශය, සංගීත පීඨය, සෞන්දර්ය කලා විශ්වවිද්‍යාලය

# Session 06

| ID | Topic | Author |
|---|---|---|
| **MU/IRS/07** | ජන සංගීතයෙන් පිළිබිඹු වන ලාංකේය සංස්කෘතිය (ප්‍රේමය හා ලිංගිකත්වය ඇසුරින්) | වීරසිංහ මුදියන්සේලාගේ සෂිකා ලෝෂණි |
| **MU/IRS/08** | ජන සංගීත සම්ප්‍රදායෙන් ගිලිහෙන හේන් සැහැල්ල | ඩී. ඩබ්. මලීෂා මධුමිණි |
| **MU/IRS/09** | ශ්‍රී ලාංකේය ජන ක්‍රීඩාවන්හි අන්තර්ගත ගායන ශෛලි පිළිබඳ විමර්ශනාත්මක අධ්‍යයනයක් | එච්. පී. එම්. සෙව්වන්දි |
| **MU/IRS/15** | කතලුව ගිනිවැල්ල පුරාණ විහාරයේ මතභේදාත්මක සිතුවම්කරණය පිළිබඳ අධ්‍යයනයක් | යූ. අයි. යූ. විමලධර්ම |
| **MU/IRS/16** | ප්‍රාග් ඓතිහාසික යුගයේ ශෛල පෘෂ්ඨීය පාදක කලාව තුළ හස්ති රූප භාවිතය. | එම්. ඩී. එස්. උප්පලවණ්ණා |
| **MU/IRS/21** | කැලණි විහාරයෙහි ඇති සෝලියස් මැන්දිස් චිත්‍ර ශිල්පියාගේ සිතුවම්වල කාන්තා රූව භාවිතය පිළිබඳ අධ්‍යයනය. | කේ. එම්. පී. ඒ. කළුපහන |

# ජන සංගීතයෙන් පිළිබිඹු වන ලාංකේය සංස්කෘතිය
# (ප්‍රේමය හා ලිංගිකත්වය ඇසුරින්)

**වීරසිංහ මුදියන්සේලාගේ සෂිකා ලෝෂණි** [1]

ජන සංගීතය මනුෂ්‍යය අත්දැකීම් කේන්ද්‍රගත ජීවිතයේ ප්‍රකාශනයන්හි ගායන මාධ්‍යය වේ. පරිකල්පනයෙන් සවිඥානිකව මෙහි ජන කවිය ශ්‍රවණ මාධ්‍යයෙන් පෝෂිතව විකාශනය වී ඇත. මානව ඓතිහාසික ජන සංගීතය සහ නූතන සංකලන ජන සංගීතය දක්වා ගමන්මග විමර්ශනයේ දී ප්‍රේමය හා ලිංගිකත්වය ඇසුරින් ලාංකේය සංස්කෘතිය සඳහා ජන සංගීතය ප්‍රමාණවත් මැදිහත්වීමක් සිදු කරයි. ජන සංගීතයෙන් මෙරට සංස්කෘතිය පිළිබිඹු වේ ද යන්න මෙම පර්යේෂණයේ ගැටලුව වේ. ජන කවියෙන් ගැමි ජනතාවගේ භෞතික අභෞතික සිතුම් පැතුම් පෘථුල පරාසයක් දක්වා දැඩි සංයමයකින් සහ ශෘංගාරාත්මකව ප්‍රකාශ කර ඇති අයුරු පර්යේෂණයේ විවරණ වේ. එකී ප්‍රස්තුත ලිංගිකත්වය සමග විග්‍රහ වන්නේ යෞවන හා අඹු - සැමි සම්බන්ධතා පිළිබඳ මනෝභාව මූලික වූ ජනකවි සමඟ ය. සිංහල ගීත සාහිත්‍යයට ද මෙකී විෂය පරාසය බලපා ඇති අයුරු පර්යේෂණය මගින් පැහැදිලි විය. මෙහි දී නෛසර්ගිකව පවතින ජන සංගීත ශෛලි හඳුනාගැනීම, එහි නව ප්‍රවණතා සමග සංස්කෘතික භාවිතය සහ අනන්‍යතාව නිරූපණය වන ආකාරය විමර්ශනය කිරීම මෙම පර්යේෂණයේ අරමුණු වේ. ප්‍රමාණාත්මක සහ ගුණාත්මක පර්යේෂණ ක්‍රමවේද යටතේ ද්විතීයික දත්ත ලෙස සම්මුඛ සාකච්ඡා, ප්‍රශ්නාවලි ද සමාජ නිරීක්ෂණ, ලිඛිත මූලාශ්‍ර පදනම් කරගන්නා ලදී. ජන සංගීතය සහ ලාංකේය සංස්කෘතික වපසරිය පර්යේෂණයේ නියැදිය යි. උපන්‍යාසගත විමර්ශනයේ දී ජන සංගීතය සංස්කෘතියේ අභිවෘද්ධිය උදෙසා උත්පන්න සංගීත අවධියේ සිට වර්තමානය දක්වා සමබර ස්වතන්ත්‍ර මාර්ගයක පැමිණ ඇත. ජන සංයුතිය (Population composition) සමඟ භේදනය වන්නා වූ කලාත්මක අනන්‍යතා සහ ජනශ්‍රැතිය ලාංකේය ජන සංස්කෘතියේ ප්‍රගමනය සඳහා සුබවාදීව බලපා ඇති අතර, එකී සංගීතමය බලපෑම ලාංකේය සංස්කෘතියේ ප්‍රායෝගික ජන ජීවිතයේ පිළිබිඹුවක් වෙමින් එය සමාජ විද්‍යාත්මක සහ සංස්කෘතික පදනමක් ගොඩනගන බව නිගමනය කළ හැකිය. දේශීය අනන්‍යතාව සහ කලාත්මක වර්ධනය උදෙසා සමාජ සංස්කෘතික අභියෝගවලට ජන සංගීතය පාත්‍ර කළ හැකි ය. මෙහි දී පළාත්බද ව සහ ප්‍රාදේශීයබද ව බිහි වූ, ව්‍යාප්ත නොවූ ජන නාද මාලාවන් පර්යේෂණාත්මකව සහ විමර්ශනාත්මකව අධ්‍යයනය කර හඳුන්වා දීමට මෙහිදී යෝජනා කෙරෙයි. අප්‍රකට ජන සංගීත ශෛලි සහ මූලාශ්‍රය සුරැකීම සඳහා විශ්වවිද්‍යාල සහ රාජ්‍ය අනුග්‍රහය ලබාගැනීම, ජන සංගීතය සංරක්ෂණය කිරීමත් එහි මූලාශ්‍රය අනාගතයට සුරක්ෂිත කිරීම සහ සංස්කෘතික අගය ලබාදීමත්, දේශීය විදේශීය මට්ටමින් ජන සංගීතය ව්‍යාප්තිය සඳහා සංගීතවේදීන් හා විද්‍යාර්ථීන්ගෙන් යෝජනා ලබාගැනීමට පර්යේෂණය මඟින් වැඩිදුරටත් යෝජිත ය.

**ප්‍රමුඛ පද** - ජන සංගීතය, ලාංකේය සංස්කෘතිය, පරිකල්පනය, ජනශ්‍රැතිය, ජන සංයුතිය

[1] නර්තන රංගකලා හා ඉතිහාස සිද්ධාන්ත අධ්‍යයනාංශය, සෞන්දර්ය කලා විශ්වවිද්‍යාලය
sashikaloshani123@gmail.com

# ජන සංගීත සම්ප්‍රදායෙන් ගිලිහෙන හේන් සැහැල්ල

**ඩී. ඩබ්. මලීෂා මධුමිණී** [1]

ගැමි ජනතාව තම වෘත්තීය පසුබිම තුළ නිරායාසයෙන් ගොඩනැගූ සිතුවිලි ජන සංගීතය හරහා ප්‍රකට විය. ගැමියාගේ දුෂ්කර ජීවන රටාව, සිතුම් පැතුම්, ස්වභාවධර්මය, ඇදහිලි හා විශ්වාස, භාෂාව, අත්දැකීම් ජන සංගීතය බිහිවීමෙහිලා මූලික වී ඇත. නූතනයේ හේන් සැහැල්ල නම් ජන සංගීත සම්ප්‍රදාය අභාවයට යමින් පැවැතීම පර්යේෂණයේ ගැටලුව වේ. එනිසා ම ඒවායේ වටිනාකම් ද ඉහළ සංස්කෘතික අගයක් ගනියි. ගෝලීයකරණය හමුවේ හේන් සැහැල්ල ජන ගායනා සංස්කෘතිය හරහා සංරක්ෂණය කිරීම පර්යේෂණයේ අරමුණු වේ. පර්යේෂණ ක්‍රමවේදය ලෙස, ලිඛිත හා අලිඛිත දත්ත උපයෝගි කරගනිමින් සිදු කරනු ලබයි. ලිඛිත දත්ත ලෙස පොත්පත්, සඟරා, අන්තර්ජාලය ද, අලිඛිත දත්ත ලෙස සම්මුඛ සාකච්ඡා, ප්‍රශ්නාවලී, ප්‍රාදේශීය සීමාවන් අනුව දත්ත ලබාගනු ලබයි. මෙම පර්යේෂණය මඟින් හේන් සැහැල්ල නම් වූ ජන සංගීත සම්ප්‍රදාය අභාවයට යාමට ප්‍රමුඛ හේතුව වී ඇත්තේ, නූතන තාක්ෂණය, සමාජ වාණිජකරණය සහ සමාජ ඉහළ යාම බව නිගමනය වේ. ඒ අනුව පාරම්පරික ජනයාගේ ජන ජීවිතය සමග බද්ධව සංරක්ෂණය වූ ජනශ්‍රැතික දැනුම ඉහත බලපෑම් මත අභාවයට ගොස් ඇති බව නිගමනය කළ හැකි ය. තත්කාලය සහ අනාගතය සඳහා මෙකී අප්‍රකට දැනුම නව මාධ්‍ය භාවිතය, විද්‍යුත් මාධ්‍ය, ලිඛිත මාධ්‍ය, පුළුල් කලාත්මක ප්‍රායෝගික ප්‍රකාශන හරහා ජනගත කිරීම හා සංරක්ෂණය සිදු කළ හැකි යැයි පර්යේෂණයෙන් යෝජිත ය.

**ප්‍රමුඛ පද** - ජන සංගීතය, හේන් සැහැල්ල, සංස්කෘතිය, ගෝලීයකරණය, ජන ජීවිතය

[1] නර්තන රංගකලා ඉතිහාසය සහ සිද්ධාන්ත අධ්‍යයනාංශය, සෞන්දර්යය කලා විශ්වවිද්‍යාලය
malishamadumini@gmail,com

# ශ්‍රී ලාංකේය ජන ක්‍රීඩාවන්හි අන්තර්ගත ගායන ශෛලී පිළිබඳ විමර්ශනාත්මක අධ්‍යයනයක්

**එච්. පී. එම්. සෙව්වන්දි** [1]

සිංහල ජන ක්‍රීඩා යනු සිංහල බෞද්ධ සංස්කෘතියේ අපූරු කැඩපතකි. ජන ක්‍රීඩා හා බැඳුණු හර පද්ධතියක් ඇත. ජනකෙළි උරුමය නිවැරදිව හඳුනාගන්නේ නම් එමඟින් නූතන තාක්ෂණික මුසුවක් මඟින් අපේ යටගියාවේ උරුමය නවමු ලෙස සමාජගත කළ හැකි ය. පත්තිනි දේවිය මුල් කරගනිමින් අං කෙළිය, පංච දැමීම වැනි ක්‍රීඩා යම් ඉතිහාස සිදුවීමක් මුල් කොට බිහිවී ඇත. ශ්‍රී ලාංකේය ජන ක්‍රීඩාවල අන්තර්ගත ගායන ශෛලී පිළිබඳ විමර්ශනාත්මක අධ්‍යයනයක් සිදු කිරීමේ කාලීන වැදගත්කම මෙකී පර්යේෂණයෙහිලා හේතු පාදක වී ඇත. ශ්‍රී ලාංකේය ජන ක්‍රීඩාවල අන්තර්ගත ගායන ශෛලී ළමා මානසිකත්වය හා කුසලතා වර්ධනයට ඇති කරන බලපෑම කෙසේ ද යන්න මෙහි පර්යේෂණ ගැටලුව වේ. ජන ක්‍රීඩාවල අන්තර්ගත ගායන ශෛලී මඟින් ඉදිරිපත් කෙරෙන මානව විද්‍යාත්මක, මනෝ විද්‍යාත්මක හා සමාජ විද්‍යාත්මක තොරතුරු හෙළිකර ගැනීම මෙහි මුඛ්‍ය පරමාර්ථයයි. ජන ක්‍රීඩාවන්හි අන්තර්ගත ගායන ශෛලියක පවතින හඬ පරාසය දරුවකුගේ මානසික ආතතිය අවම කරගැනීම සඳහා බලපාන ආකාරය හඳුනාගැනීම සහ එහි භාෂා භාවිතය ළමා මනස හා කුසලතා වර්ධනයට ඉවහල් වන ආකාරය හඳුනාගැනීම පර්යේෂණයේ අරමුණු වේ. මෙහි දී ගුණාත්මක පර්යේෂණ ක්‍රමවේදය අනුගමනය කරන අතර, ද්විතීයික දත්ත ලෙස ලිඛිත මූලාශ්‍රය පොත් පත්, සඟරා, ලිපි ලේඛන, සම්මුඛ සාකච්ඡා, ප්‍රශ්නාවලි යනාදිය පර්යේෂණ කාර්යය සඳහා යොදාගැනේ. පර්යේෂණ නියැදිය ලෙස රාජගිරිය හේවාවිතාරණ විද්‍යාලයේ ප්‍රාථමික අංශයේ අහඹු ලෙස තෝරා ගත් දරුවන් විසිපස් දෙනෙකුගේ යුත් නියැදියක් ඇසුරෙන් දත්ත ලබා ගැණිනි. ජන ක්‍රීඩාවන් පිළිබඳ මීට පෙර පර්යේෂණ කෘති කිහිපයක් බිහිවී ඇත. ඒ මඟින් ජන ක්‍රීඩාවේ ජනශ්‍රැතික පසුබිම ඒ හා බැඳි සිරිත් විරිත් පිළිබඳ ගෙනහැර දක්වා ඇත. මෙහි දී නායකත්වය, පිල් බෙදීම ආදී කටයුතු තුළ සාමාජිකයින් තෝරා ගැනීමේදී ගල-මල බැලීම, බිම ඉරි ඇඳි ඉලක්කම් බෙදාගැනීම, ගණනය කිරීම වැනි ක්‍රියාකාරකම් මඟින් ශාරීරික හා බුද්ධිමය කුසලතා ගොඩනගා ගත හැකි ය. සම්මත රීති පද්ධතියක් තුළ ක්‍රියාකිරීම් තුළින් සමාජයේ ශික්ෂණය, ක්ෂණික තීරණ ගැනීම, තාක්ෂණික කුසලතා ක්‍රීඩක ක්‍රීඩිකාවන් තුළ නිරන්තරයෙන් පෝෂණය වේ. ශ්‍රී ලාංකේය ජන ක්‍රීඩාවන්හි අන්තර්ගත ගායන මඟින් ළමා මානසිකත්වය හා කුසලතා වර්ධනයට ප්‍රබල දායකත්වයක් ලබාගත හැකි බව නිගමනය කළ හැකිය.

**මුඛ්‍ය පද** - ජන ක්‍රීඩා, ගායන ශෛලිය, තාක්ෂණය, සිරිත් විරිත්, කුසලතා

[1] නර්තන රංගකලා ඉතිහාසය සහ සිද්ධාන්ත අධ්‍යයනාංශය, සෞන්දර්ය කලා විශ්වවිද්‍යාලය
malshasewwandi0824@gmail.com

# කතලුව ගිනිවැල්ල පුරාණ විහාරයේ මතභේදාත්මක සිතුවම්කරණය පිළිබඳ අධ්‍යයනයක්

**යූ. අයි. යූ. විමලධර්ම**[1]

දකුණු පළාතේ මාතර දිස්ත්‍රික්කයේ අහංගම ප්‍රදේශයේ කතලුව ගිනිවැල්ල පුරාණ විහාරය පිහිටා ඇත. අතීතයේ සිට මේ දක්වා ම ලංකාව තුළ විහාර ආශ්‍රිත සිතුවම් කලාව විවිධ වූ වෙනස්කම්වලට ලක්වෙමින් විකාශනය වී ඇත. මෙම අධ්‍යයනය සිදුකිරිමේ දී කතලුව ගිනිවැල්ල පුරාණ විහාරයේ සිතුවම්කරණය සම්බන්ධව ජනතා විරෝධයක් එල්ල වූයේ මක් නිසාද යන්න මෙහි පර්යේෂණ ගැටලුවයි. 20 වන සියවස මුල් භාගයේ දී මෙරට විහාරවල විදේශීය ශිල්පීන් සිතුවම්කරණයේ යෙදුණ ද ඒවාට ජනතාවගේ ප්‍රසාදයක් මිස විරෝධයක් ඇති නොවීය. මෙරට ශාස්ත්‍රීය කලාවේ මෙන්ම බටහිර කලා ලක්ෂණ (පුනරුද) පිළිබිඹු කරන මෙම සිතුවම්වලින් බෞද්ධ වතාවරණයෙන් බැහැරවූ වඩාත් ශෘංගාරය කමාදික භාවයට නැඹුරු වූ බැවින් බෞද්ධ ජනයා තුළ මෙම සිතුවම් කෙරෙහි අපැහැදිම ඇති වූ බව විද්වද් අදහසයි. පර්යේෂණය සඳහා ද්විතීයික දත්ත රැස් කිරීමේ දී ක්ෂේත්‍ර පරීක්ෂණ සිදු කළ අතර, දත්ත විශ්ලේෂණයට අනුව මෙම සිතුවම් නිර්මාණය කිරිමේ දී එම ශිල්පීන් හට මෙරට බෞද්ධ ජන සමාජයේ සිරිත් විරිත් හා සභ්‍යත්වය පිළිබඳ අවබෝධයක් නො තිබීමත් මෙම සිතුවම් පැවති සංස්කෘතික සමජීය හා ආගමික පසුබිමට නොගැලපීමත් මෙම ජනතා විරෝධයට හේතු ලෙස නිගමනය කළ හැක.

**ප්‍රමුඛ පද :** කතලුව ගිනිවැල්ල පුරාණ විහාරය, සිතුවම්කරණය, ජන සමාජය

[1] දෘශ්‍ය කලා පීඨය, සෞන්දර්ය කලා විශ්වවිද්‍යාලය.

# ප්‍රාග් ඓතිහාසික යුගයේ ශෛල පෘෂ්ඨීය පාදක කලාව තුළ හස්ති රූප භාවිතය.

**එම්. ඩී. එස්. උප්පලවණ්ණා**[1]

ශ්‍රී ලාංකේය ප්‍රාග් ඓතිහාසික ශෛල පෘෂ්ඨ පාදක කලාව තුළ භාවිත වූ දෘශ්‍ය සත්ව සංකේත අතරින් හස්ති රූප සුවිශේෂී වේ. මෙම අධ්‍යයනයෙන් ප්‍රාග් ඓතිහාසික අවධියේ දී හස්ති රූ නිරූපිත පින්තාරු කිරීම්, කුරුටු ගෑම්, උත්කීර්ණ ආදි විවිධ ක්‍රමවේද දැකගත හැකිය. එම කලා නිර්මාණවල හස්ති රූපය නිරූපණය වීම මානවයන් ගේ අවට පරිසරයේ ඇස ගැටුණු සතුන් ඔවුන්ගේ ජීවන රටා හා දඩයම වැනි කාර්යයන් සමග ප්‍රබලව ම සම්බන්ධ වේ. මෙම පර්යේෂණයෙන් සාකච්ඡා කෙරෙන ගැටලුව වන්නේ ප්‍රාග් ඓතිහාසික යුගයේ ශෛල පෘෂ්ඨ පාදක කලාව නැතහොත් ගිරි කලාව තුළ හස්ති රූපවල ඉරියව් භාවිතය සහ නිර්මාණයේ ස්වභාවය කුමක් ද යන්නයි. ප්‍රාග් ඓතිහාසික යුගයේ සිතුවම් හමුවන ස්ථාන කේන්ද්‍රීයව තෝරාගත් (දොරවක ලෙන, තන්තිරිමලේ, වෙට්ටම්බුගල, කදුරුපොකුණ) නියැදියක් තුළින් ප්‍රාග් ඓතිහාසික මානවයා පරිසරයේ ප්‍රබලව ම ඇස ගැටුණු හස්ති රූප ගිරි පෘෂ්ඨ මත කෙලෙස නිරූපණය කළේ ද යන්න සහ ඔවුන්ගේ දෘශ්‍ය සංවේදීතාව කෙලෙස ඉදිරිපත් කළේ ද යන්න මෙයින් පරීක්ෂාවට ලක් කෙරේ.

**ප්‍රමුඛ පදඃ** ප්‍රාග් ඓතිහාසික යුගය, හස්ති රූප, ශෛල පෘෂ්ඨ, මානවයා, පරිසරය

[1] දෘශ්‍ය කලා පීඨය, සෞන්දර්ය කලා විශ්වවිද්‍යාලය

# කැලණි විහාරයෙහි ඇති සෝලියස් මැන්දිස් චිත්‍ර ශිල්පියාගේ සිතුවම්වල කාන්තා රුව භාවිතය පිළිබඳ අධ්‍යයනය.

**කේ. එම්. පී. ඒ. කළුපහන**[1]

(20) වන සියවසේදි නිර්මාණය කරන ලද කැලණි විහාරයෙහි සිතුවම් සෝලියස් මැන්දිස් මහතා ඉන්දියාවේ අජන්තා, එල්ලෝරා ආදි කලා නිර්මාණ මෙන් ම ලංකාවේ සීගිරිය හා තිවංක පිළිමගේ ආදි ස්ථාන පිළිබඳ අධ්‍යයනය කර ආසියානු සම්භාව්‍ය ශෛලිය අනුගමනය කරමින් නව ආරකින් නිර්මාණය කර ඇත. මෙම නව ආරක සිතුවම් කලාව පිළිබඳ අධ්‍යයනයේ දී සෝලියස් මැන්දිස් ශිල්පියාගේ සිතුවම්වල නිරූපිත කාන්තා රුව මෙහිදී සාකච්ඡා කරන්නා වූ ගැටලුව වේ. කැලණිය විහාරයේ සිතුවම් ස්ථානීය නිරීක්ෂණ මෙන්ම වෙනත් ද්විතීයික මූලාශ්‍රය මෙහිදී භාවිත කරන ලදී. එහිදි තෙරණිවරුන්, බිසෝවරුන්, කුමාරිකාවන්, දාසියන් වැනි විවිධ සමාජ ස්තරවල චරිත දැකගත හැකිවීම විශේෂත්වයකි. සිතුවමෙහි කාන්තා රූප භාවිතය අවම වුවත් තේමාවන් සඳහා නම් යෙදීමේ දී එම කාන්තාවන්ගේ නාමයට මුල් තැන දී ඇත.(සංඝමිත්තා තෙරණිය ශ්‍රී ලංකාවට ශ්‍රී මහා බෝධිය වැඩම කිරිම, සුජාතාව කිරිපිඩු පිළිගැන්වීම). එක් ප්‍රමුඛ කාන්තාවක් ප්‍රධාන කොටගෙන අදාළ කතා වස්තුව ඉදිරිපත් කිරිම විශේෂ වේ. මෙහි නිරූපිත සියලු කාන්තාවන් මනා අඟපසඟකින් යුක්ත ඉතා උසස් කුලවත් කාන්තාවන් වීම ද පෙන්වා දිය හැක. ඒ අතර දාසියන් ද සිටින අතර, ඔවුන් විශේෂිත වූ වස්ත්‍රාභරණයෙන් සරසවා සිත්තම් කර ඇත. එමගින් කුමන තරාතිරමක සිටියත් සෑම කාන්තාවක ම ගරු ගම්භීර ස්වභාවයකින් පෙන්වීමට උත්සහා දරා ඇති බව නිගමනය කළ හැක.

**ප්‍රමුඛ පද -** කැලණි විහාරය, සෝලියස් මැන්දිස්, සිතුවම්, කාන්තාව, දෘශ්‍ය කලාව

[1] දෘශ්‍ය කලා පීඨය, සෞන්දර්ය කලා විශ්වවිද්‍යාලය.

# Session 07

| ID | Topic | Author |
|---|---|---|
| **MU/IRS/06** | හින්දුස්තානී රාගධාරී ස්වර ප්‍රස්තාර යතුරු ලියනය කිරීමේ දී විද්‍යාර්ථීන් විසින් මුහුණ දෙනු ලබන අභියෝග සඳහා ප්‍රතිකර්ම වශයෙන් පරිගණක මෘදුකාංගයක් සංවර්ධනය | **ජී. කේ. සුභාෂ්**<br>**එම්. ඒ. කේ. පී. කුමාරසිරි** |
| **MU/IRS/14** | MIDI (Musical Instrument Digital Interface) තාක්ෂණය මගින් සංගීත භාණ්ඩ වාදනය කිරීමේ ඇති ඵලදායිතාව පිළිබඳ අධ්‍යයනයක් | **ආර්. ඒ. වී. එස්. රණවක** |
| **MU/IRS/18** | Aspects and the effectiveness of music therapy on human behavior | **D. M. B. Bhagya** |

# හින්දුස්තානී රාගධාරී ස්වර ප්‍රස්තාර යතුරු ලියනය කිරීමේ දී විද්‍යාර්ථීන් විසින් මුහුණ දෙනු ලබන අභියෝග සඳහා ප්‍රතිකර්ම වශයෙන් පරිගණක මෘදුකාංගයක් සංවර්ධනය

**ජී. කේ. සුභාෂ් / එම්. ඒ. කේ. පී. කුමාරසිරි**[1]

ශ්‍රී ලංකාවේ පෙරදිග සංගීතය හදාරනු ලබන විද්‍යාර්ථීන් විසින් උත්තර භාරතීය සංගීත ප්‍රබන්ධ දෘශ්‍යමය ආකාරයෙන් දැක්වීම සඳහා භාත්ඛන්ඩේ ස්වර ලිපි පද්ධතිය භාවිත කෙරේ. පරිගණක ඇසුරු කරගනිමින් එකී ක්‍රමවේදයට අනුව ස්වර ලිපි සැකසීමේ දී ලාංකේය විද්‍යාර්ථීන් විසින් මුහුණ දෙනු ලබන අභියෝග හඳුනාගැනීමත්, එයට ප්‍රතිකර්ම වශයෙන් නව පරිගණක මෘදුකාංගයක් හඳුන්වාදීමත් මෙම අධ්‍යයනයේ මූලික අරමුණු වෙයි. ඒ අනුව පරිගණක ඇසුරු කරගෙන ස්වර ලිපි සැකසීමේ දී ලාංකේය විද්‍යාර්ථීන් විසින් මුහුණ දෙනු ලබන අභියෝග කවරේ ද? යන්න මෙම අධ්‍යයනයට අදාළ පර්යේෂණ ගැටලුව වේ. මෙය මිශ්‍ර පර්යේෂණ ප්‍රවේශය යටතේ සිදු කැරිණි. හින්දුස්තානී සංගීත ප්‍රස්තාරකරණය සහ අධ්‍යාපනික මෘදුකාංග සංවර්ධනය පිළිබඳ මූලික සංකල්ප අධ්‍යයනය සඳහා ග්‍රන්ථ මූලාශ්‍රය භාවිත කරනු ලැබූ අතර, පරිගණක ඇසුරෙන් ස්වර ප්‍රස්තාරකරණය සම්බන්ධ මින් පෙර සිදු කැරෙන ලද අධ්‍යයන පිළිබඳ දත්ත එක් රැස් කිරීමේ ප්‍රාථමික මූලාශ්‍රය වශයෙන් සම්මුඛ සාකච්ඡා ද ද්විතීයික මූලාශ්‍රය වශයෙන් මුද්‍රිත, විද්‍යුත් ලේඛන මූලාශ්‍රය හා ශ්‍රව්‍ය දෘශ්‍ය මාධ්‍ය ද භාවිත කැරිණි. පරිගණක ඇසුරෙන් ස්වර ලිපි රචනය සහ පිටපත්කරණය සම්බන්ධයෙන් විද්‍යාර්ථීන් විසින් මුහුණ දෙනු ලබන අභියෝග හඳුනාගැනීම සඳහා විවෘත ප්‍රශ්නාවලියක් ද යොමු කැරිණි. ඒ අනුව පවත්නා ක්‍රමවේද ඔස්සේ පරිගණක ආශ්‍රිත ප්‍රස්තාර පිටපත්කරණයේ දී වත්මන් විද්‍යාර්ථීන් විසින් මුහුණ දෙනු ලබන ප්‍රධාන අභියෝග වශයෙන් කාලය වැය වීම, දෝෂ සහිත වීම, පහසු අනන්‍ය ක්‍රමවේදයක් නොමැති වීම, සිත් ඇදගන්නා සුලු නිමාවක් නොමැති වීම හා වැයවන අධික පිරිවැය යනාදිය හඳුනාගනු ලැබිණි. එම අභියෝග සඳහා ප්‍රතිකර්ම වශයෙන් *'ස්වර මාලා'*; හින්දුස්තානී සංගීත ප්‍රස්තාර මෘදුකාංගය නිර්මාණය කරනු ලැබීය. ඒ අනුව තේරීම් කවුළු කීපයක් ඔස්සේ භාවිත හින්දුස්තානී තාල අනුව ස්වයංක්‍රීය ව නිර්මාණය කරනු ලබන ප්‍රස්තාර සටහන් වඩාත් ආකර්ෂණීය, කාර්යක්ෂම හා පහසු ක්‍රමවේද ඔස්සේ අභිමතය පරිදි සංස්කරණය කිරීමෙන් අනතුරුව වඩා හොඳ නිමාවකින් යුතු ස්වර ලිපි ඡායාරූප ආකාරයෙන් සකසා ගැනීමේ හැකියාව හිමි වේ. ඒ අනුව ස්වර මාලා මෘදුකාංගය හින්දුස්තානී සංගීත ප්‍රස්තාර පිටපත්කරණයේ යෙදෙන විද්‍යාර්ථීන්ට මුහුණ දීමට සිදුවන අභියෝග සාර්ථක ලෙස ජය ගැනීමට සහාය දක්වන යෙදවුමක් ලෙස දැක්විය හැකි ය.

**ප්‍රමුඛ පද**

සංගීත ප්‍රස්තාරකරණය, පරිගණක මෘදුකාංග, සංගීත තාක්ෂණය, සංගීත පිටපත්කරණය

[1] සංගීත හා නිර්මාණාත්මක තාක්ෂණවේදය අධ්‍යයනාංශය, ශ්‍රී ජයවර්ධනපුර විශ්වවිද්‍යාලය සහ ශ්‍රී ලංකා තොරතුරු තාක්ෂණ අධ්‍යයනායතනය

# MIDI (Musical Instrument Digital Interface) තාක්ෂණය මඟින් සංගීත භාණ්ඩ වාදනය කිරීමේ ඇති ඵලදායිතාව පිළිබඳ අධ්‍යයනයක්

**ආර්. ඒ. වී. එස්. රණවක**[1]

VST Plugin (Virtual Studio Technology) යොදාගෙන MIDI තාක්ෂණය හරහා විවිධ සංගීත භාණ්ඩවල නාද උපදවාගැනීම වර්තමානයේ සුලබව දැකිය හැක. මෙලෙස වාදනය කිරීමේ ඇති ඵලදායිතාව පිළිබඳ අධ්‍යයනය කිරීම මෙම පර්යේෂණයේ මූලික අරමුණයි. MIDI තාක්ෂණය මගින් ලෝකයේ භාවිත වන විවිධ සංගීත භාණ්ඩවල නාද වාදනය කිරීම සාර්ථක ද යන්නත්, එසේ වාදනය කිරීමේ දී ඇතිවන වාසි අවාසි මොනවා ද යන්නත් සොයා බැලීම මෙම පර්යේෂණයේ අරමුණ විය. නූතනයේ MIDI තාක්ෂණය මගින් පටිගත කිරීම් සිදු කරන ශබ්ද ඉංජිනේරුවන් සහ නිෂ්පාදකවරුන් සමඟ සිදුකරන සම්මුඛ සාකච්ඡා මඟින් සහ MIDI තාක්ෂණයෙන් වාදනය කළ සංගීත ඛණ්ඩ සහිත ගීත කිහිපයක් අධ්‍යයනය කිරීම මඟින් දත්ත රැස් කිරීමෙන් මෙම පර්යේෂණය සිදු කර ඇත. තාක්ෂණයේ දියුණුවත් සමඟ ශබ්ද ඉංජිනේරුවන් සංගීත භාණ්ඩ සජීවීව වාදකයෙකු ලවා වාදනය කර පටිගත කිරීම වෙනුවට VST Plugin යොදාගනිමින් එම සංගීත භාණ්ඩ වාදනයට හුරුව ඇත. එක් සංගීත භාණ්ඩයක් හෝ දෙක තුනක් පමණක් සජීවීව පටිගත කර අනෙකුත් සියලු නාදයන් VST Plugin හරහා උපදවා ගැනීමේ ප්‍රවණතාවක් දැකගත හැක. නමුත් විවිධ අවස්ථාවල MIDI තාක්ෂණය ඔස්සේ වාදනය කළ සංගීත භාණ්ඩවල නාදයන්ගේ ස්වභාවිකත්වය පිළිබඳ ගැටලු මතුවේ. එසේ වුවත් බොහෝ සංගීත නිෂ්පාදකවරුන් සංගීත භාණ්ඩයේ ස්වභාවික නාදයට ම සමාන ලෙස, MIDI ස්වර පුවරු මඟින් වාදන සිදු කිරීමට තරම් දක්ෂ වී ඇත. සංගීත තාක්ෂණයේ දියුණුවත් සමඟ ඇති වූ මෙවැනි පහසුකම්වලින් නිසි ප්‍රයෝජන ලබාගැනීමට නම් MIDI වාදන ශිල්පීන්ගේ ස්වර පුවරු වාදන හැකියාව සහ සංගීතමය දැනුම ඉහළ මට්ටමක පැවතිය යුතුය. ලොව පවතින විවිධ සංගීත සම්ප්‍රදායවලට අනුව සිදු කරනු ලබන තාක්ෂණික වාදන ශිල්ප ක්‍රම ඒ ආකාරයෙන්ම ස්වර පුවරුවකින් වැයීම තරමක් දුෂ්කර කාර්යයකි. නිදසුන් ලෙස ඉන්දියානු සංගීතයේ එන මීන්ඩ්, ගමක් වැනි ශිල්ප ක්‍රම පෙන්වා දිය හැක. එපමණක් නොව ඒ ඒ වාදන භාණ්ඩවලට අදාළ වාදන සම්ප්‍රදාය පිළිබඳ යම් අවබෝධයක් MIDI වාදන ශිල්පියා සතුව තිබිය යුතුය. එමෙන්ම මුල් යුගයේ මෙන් සියලුම සංගීත භාණ්ඩ ඒ ඒ වාදකයන් ගෙන්වා පටිගත කිරීමට ගතවන කාලයත්, ඔවුන් වෙනුවෙන් වැය කරන මුදලත් ඉතිරි වීම මෙන්ම, ස්වර පුවරුව මගින් සියලු සංගීත භාණ්ඩ වාදනය කරගැනීමට ඇති හැකියාව නිසා නිරායාසයෙන් ම නාද තාක්ෂණික කටයුතු පෙරට වඩා කාර්යක්ෂම වීමට VST සහ MIDI තාක්ෂණය හේතු වී ඇති බව ගම්‍ය වේ.

**ප්‍රමුඛ පද** :- MIDI, VST, ඵලදායිතාව, ශබ්ද ඉංජිනේරු, තාක්ෂණය

[1] උත්තර භාරතීය සංගීත අධ්‍යයනාංශය, සෞන්දර්ය කලා විශ්වවිද්‍යාලය sachinthavenura@gmail.com

# Aspects and the effectiveness of music therapy on human behavior

**D. M. B. Bhagya**[1]

Music therapy is currently a relatively mature discipline and is also a relatively common form of therapy. The purpose of this research is to understand how music therapy can be helpful in eliminating negatie feelings and mental problems in students. Further is to understand how it impacts on university students' good personality as well. So, it can help university students overcome bad psychology and develop their psychology in a healthy direction. Mental health is one of the important indicators to measure the comprehensiveness of human quality and plays an important role in sustainable human development. Music therapy plays an important role in the mental health education of university students. As a fringe subject, music therapy combines music, medicine, and psychology, which is helpful in eliminating students' bad feelings and mental problems, and it helps university students build a good personality. Music therapy allows these students to release their feelings in an appropriate environment and atmosphere and then guide them in the right direction. Initially, colligative research method was used in this article and face to face interviews, books, journals, and a questionnaire, has been used as secondary data. University of the Visual and Performing Arts, Faculty of Music students were taken in to the sample for the collecting of data. This study presents the effectiveness of music therapy in the mental health education of university students and then presents important actions to promote the implementation of music therapy in the mental health education of university students in Sri Lanka.

**Key Word:** Music therapy, Human behavior, Education

[1] Department of Western Music , Faculy of Music, University of Visual and Performing Arts
bewmanidissanayake23@gmail.com

# Session 08

| ID | Topic | Author |
|---|---|---|
| **MU/IRS/A/14** | Notation writing system in the Field of Applied Music in Sri Lanka | **Kaludewa Sachintha Maduranga** |
| **MU/IRS/A/23** | මුද්‍රිත ප්‍රකාශන සඳහා සිංහල භාෂාවෙන් සංගීත ස්වර ප්‍රස්තාර පිරියෙසුමෙහිලා මතුවන ගැටලු | **සමිත රුක්මාල් සමරතුංග** |
| **MU/IRS/A/15** | Electro acoustic Music as an Abstract Art Form (Producing Electro-acoustic compositions as an abstract Art of Music by using subdivided parts of tones of Sri Lankan Ethnic Musical Instruments) | **Charudaththe B. Illangasinghe.** |
| **MU/IRS/A/09** | The competence in classical music skills can be enriched through the process of continuous assessments: a study based on students of the faculty of music – UVPA | **E. M. I. Edirisooriya** |
| **MU/IRS/A/29** | කෘතිම බුද්ධිය භාවිතයෙන් මිනිස් මුහුණේ ඉරියව් සඳහා සංවේදී සංගීත ප්‍රතිචාර ක්‍රියාවලියක් නිර්මාණය කිරීම. | **ජේ. ඒ. යු. ප්‍රභාෂණ** |
| **MU/IRS/A/41** | සතත අභ්‍යාසයේ දී නිවැරදි හා විධිමත් තාක්ෂණික ක්‍රමවේද භාවිතය (තබ්ලා වාද්‍ය භාණ්ඩය ඇසුරින්) | **පී. හරේන්ද්‍ර සුජිත් දේශප්‍රිය** |
| **MU/IRS/A/53** | උත්තර භාරතීය රාගධාරී සංගීත විෂයයීය සංයුක්ත සහ වියුක්ත සංකල්ප සාධනය (ඕසබල් සහ බෘනර් විසින් ඉදිරිපත් කරන ලද “එලදායී ඉගෙනුම්” දක්ම ඇසුරින්) | **යු. ඩබ්. ඒ. සිතාරා මධුෂාණි** |

# Notation writing system in the Field of Applied Music in Sri Lanka

**Kaludewa Sachintha Maduranga**[1]

Sri Lankan Applied Music has been influenced by Eastern and Western arts throughout history, nurtured by various genres such as simple music, film music, tele-drama music and stage drama music. Simultaneously Sri Lankan applied music notation system has evolved over time from the sources of Western and Indian musical traditions. Also, there is no direct set of rules in place since the inception of the Sri Lankan applied music notation system. As a result, it has taken the core elements of the Western and Eastern notation system and built the current notation system by incorporating the subjective knowledge of artists in the field of applied music. The purpose of this research is to find out how the basic features of Eastern and Western notation system have affected Sri Lankan notation writing system and the problems that have arisen with it. Data have been collected from the theoretical study of Western and Indian musical notation system and observations of applied musical notations rules, as well as from interviews with leading scholars in the field of applied music in Sri Lanka. The problem with this research is that there is no symbolic system for the above complications of notation writing based on musical literacy and notation writing skills from musician to musician and no symbolic system to show up volume and effect control, dynamics, ornaments and tempo in notation system of applied music. The importance of this research is to solve the problems in the notation system of the Sri Lankan field of applied music and to identify the universally used symbols and techniques and adapt them to the Sri Lankan Musical Notations. The observations made in this research shows that the symbols used to express the dynamics, the rules of notation writing, ornaments used in Western and Indian music have not directly contributed to this.

**Keywords -** Applied Music, Musical Notations, Dynamics, Ornaments

[1] Temporary Lecturer, Faculty of Music, University of the Visual and Performing Arts

# මුද්‍රිත ප්‍රකාශන සඳහා සිංහල භාෂාවෙන් සංගීත ස්වර ප්‍රස්තාර පිරියෙසුමෙහිලා මතුවන ගැටලු.

**සමිත රුක්මාල් සමරතුංග** [1]

සංගීත ස්වර ප්‍රස්තාරකරණය යනු සංගීතය විෂයයෙහි අන්තර්ගත තාක්ෂණික මුහුණුවරකි. තවත් අයුරකින් එය ධ්වනිය මූලික ව මානවයා විසින් ඇති කළ නිර්මාණාත්මක ප්‍රවේශයක් වන සංගීතයෙහි දෘශ්‍ය ස්වරූපයයි. ස්වර ප්‍රස්තාරකරණය තුළ ගායනය, වාදනය හෝ වාද්‍ය වෘන්දකරණය, හඬ සැටහීම ආදි විවිධ අංශ සඳහා අවශ්‍ය ලිඛිත සටහන නිරූපණය කරනු ලබයි. සංගීතයේ නාදාත්මක ප්‍රකාශන සන්නිවේදන ශක්‍යතාව සඳහා අවැසි තාරතාව, විපුලතාව මූලික ගතිකත්වය සහ කාලය පිළිබඳ දළ චිත්‍රයක් ස්වර ප්‍රස්තාරය තුළ ලිඛිත මුහුණුවරක් හරහා සංකේතාත්මකව ප්‍රකාශනය වේ. ස්වර ප්‍රස්තාරකරණය සංගීතය පිළිබඳ විවිධ කාර්ය සාධනයන්හි දී උපකාරී වන අතර, යම් විටෙක උසස් අධ්‍යාපන සහ ශාස්ත්‍රීය කටයුතු සඳහා මුද්‍රිත ප්‍රකාශන ලෙස ජන ගත වීම ලොව පුරා සිදු වෙයි. නමුත් පෙරදිග සංගීත ස්වර ප්‍රස්තාරකරණය (ඉන්දියානු ස්වර ප්‍රස්තාරකරණය පිළිබඳ සංගීත තාක්ෂණවේදී මූලධර්ම) ඇසුරෙහි ශ්‍රී ලංකාව තුළ සිංහල භාෂාව මූලිකව සිදු කරන ස්වර ප්‍රස්තාර සහිත මුද්‍රිත ප්‍රකාශනයන් තුළ බොහෝ ඌනතා ප්‍රකට වේ. එම ගැටලු පිළිබඳ හඳුනාගැනීම මෙම පර්යේෂණයෙහි අරමුණ වේ. අත් අකුරින් ලියන ස්වර ප්‍රස්තාරවල විශ්වාසනීයත්වය පරිගණක පාදක පිරියෙසුමට වඩා බොහෝ ස්වර ප්‍රස්තාර සකසන්නන්ට විශ්වාසදායක බැවින් යුතු වීම තුළ ඇති පරතරය මෙම පර්යේෂණයෙහි ගැටලුවයි. මෙම පර්යේෂණයෙහි උපන්‍යාසය ලෙස පූර්ව මුද්‍රිත ප්‍රකාශන තුළ සංගීත ස්වර ප්‍රස්තාර පිරියෙසුමෙහි දී ගැටලු මතුවන්නේ ස්වර ප්‍රස්තාරය සැකසීමට පාදක වූ මෘදුකාංගය තුළින් නොව ස්වර ප්‍රස්තාරකරණයට අදාළ සිංහල අක්ෂර සහ සංකේත සහිත යතුරු ලියනයන් (Font/keyboards) විධිමත් ලෙස ශ්‍රී ලංකාව තුළ නිෂ්පාදනය කර නොතිබීම නිසා බවත් යන්න දැක්විය හැකිය. මෙම පර්යේෂණය ගුණාත්මක සහ ප්‍රමාණාත්මක පර්යේෂණ ප්‍රවේශය ඔස්සේ සිදු කෙරේ. සම්මුඛ සාකච්ඡා ක්‍රමය ද උපයෝගි කරගනු ලැබේ. මූලාශ්‍රය අධ්‍යයනය සහ සම්මුඛ සාකච්ඡා ඇසුරෙන් ලබාගත් දත්ත හරහා ගොඩනගා ගන්නා තොරතුරු මත ස්වර ප්‍රස්තාරකිරීම සඳහා අවශ්‍ය සංගීත ස්වරකුරු ලියනයක් (Keyboard/ font) නිර්මාණය කර ඉදිරිපත් කරනු ලැබේ.

**ප්‍රමුඛ පද -** ස්වර ප්‍රස්තාරකරණය, සංගීත තාක්ෂණවේදය, භාෂාව, පිරියෙසුම, අකුරු

[1] බාහිර උපදේශක, සංගීතවිද්‍යා අධ්‍යයනාංශය, සංගීත පීඨය, සෞන්දර්ය කලා විශ්වවිද්‍යාලය
samithafcebk@gmail.com

# Electro acoustic Music as an Abstract Art Form

(Producing Electro-acoustic compositions as an abstract Art of Music by using subdivided parts of tones of Sri Lankan Ethnic Musical Instruments)

**Charudaththe B. Illangasinghe.**[1]

The relationship between music and technology is becoming increasingly inconsistent. Today with interactive machines the concept of computer assisted compositions has broadened. Within musical thoughts computer technology allows the composer to conceive musical ideas from new perspectives. Music frequently functions as a substitute environment that mediates itself between us and the external world. The technology allows Music to be embedded within the new media environment as a service with more exchange value. Music as an expression of the human spirit is in a struggle with music as the product of corporate control. Center of the acoustical communication model is the listener. The listener is the primary interface where information is exchanged between the individual and the environment. Listening is also multi levelled because it can involve various degrees of conscious attention. Moreover, listening can trigger conscious attention to be focused on an incoming sound when there is sufficient need or motivation from the listener.This research will examine the role of electro acoustic music within the sound scape of modern digital music. And also, this research will explore the new soundscape that is evolving within the practice of music and technology. In this paper I study the abstraction of tone colors from Sri Lankan ethnic music instruments using electroacoustic recording and abstraction methods. Segregating the primary tone colors of the ethnic instruments has done using high end audio recording equipment and software. After craving-up the selected parts of recorded tones, a sampler has used to re produce the music piece. The fundamentals and primary knowledge gathered with published abstracts, books and web-based resources. In this research postulate the notion of establishing the distance to conceptualize the ways in which music composers operated with the abstract sounds of native cultures.

**Key Words**: Electro Acoustics, Sri Lankan Abstract Music, Conceptualizing abstract music, Electro Acoustic Ensemble, Music & Technology.

---

[1] Senior Lecturer, Faculty of Music, University of the Visual & Performing Arts charu.i@vpa.ac.lk

# The competence in classical music skills can be enriched through the process of continuous assessments: a study based on students of the faculty of music – UVPA

**E. M. I. Edirisooriya** [1]

The University of Visual and Performing Arts in Sri Lanka which has a history that dates from the 1970s became a self-reliant university in 2005. However, there was a shortage in the development of classical music skills among the degree holders who graduated at the end of the program. The fact that the undergraduates were evaluated only at the end of each year was a reason that shaped the view that it might be inadequate to uplift the skills of the students. So as a remedy, the process of continuous assessments was introduced. The data collected through a questionnaire given to fifty randomly selected students were analyzed to prove that this newly introduced method is a success. As music is a subject where the student-teacher rapport is abundant, the implementation of this method was necessary. Consequently, the results showed a gradual improvement during the previous year. So, this system will aid in uplifting the quality of musical performance in undergraduates.

**Keywords:** Classical Music, Competence, Continuous Assessments, Skills.

[1] Senior Lecturer, Department of North Indian Music, University of the visual and performing arts
Indrani.e@vpa.ac.lk

# කෘතිම බුද්ධිය භාවිතයෙන් මිනිස් මුහුණේ ඉරියව් සඳහා සංවේදී සංගීත ප්‍රතිචාර ක්‍රියාවලියක් නිර්මාණය කිරීම.

**J. A. U. ප්‍රභාෂණ**[1]

මිනිසා බොහෝවිට තම හැඟිම් ප්‍රකාශනය කිරීමේ මාධ්‍යයක් ලෙස මුහුණ යොදාගනු ලබන අතර, පුද්ගල ඇතුළාන්තය බාහිරට මුදාහරිනු ලබන දෘශ්‍ය දර්ශකයක් ලෙස ද හැඳින්විය හැකිය. පූර්ව පර්යේෂණවලට අනුව මිනිස් මුහුණේ ඉරියව් තුළ සංස්කෘතිකමය සාධක හැරුණු කොට යම් විශ්වීය ඒකම්ඵිකභාවයක් (විශ්වීය අනන්‍යතා ලක්ෂණයන්) දැකිය හැකිය. මෙම පර්යේෂණය මගින් සිදු කරනු ලබන්නේ පරිගණක පද්ධතියක් තුළ ක්‍රියාත්මක කෘතිම බුද්ධිය උපයෝගි කරගනිමින් මිනිස් මුහුණේ තත්කාලීන ඉරියව් ග්‍රහණය කරමින් එයට අනුකූලව අවස්ථානුකූලව ක්‍රියාත්මක විය හැකි සරල මෘදුකාංගයක් නිර්මාණය කිරීම උදෙසා සිදු කරනු ලබන දත්ත විශ්ලේෂණ හා සංස්ලේෂණ ක්‍රියාවලියයි. වර්තමාන සමාජ ආර්ථික හා දේශපාලනික සාධක පදනම් කරගනිමින් ලංකාව තුළ පරිගණක භාවිතය හා පරිගණක භාවිත කරන කාලසීමාව ඉහළ ගොස් ඇත. එය හේතු කොටගෙන පරිගණක අධි පරිභෝජන නිසා ඇතිවන මානසික තත්වයන් වෙනස්වීම් නැතිනම් මානසික සෞඛ්‍යය පිරිහීම සඳහා පරිගණක පද්ධතියක් තුළින් පිළියම් යෙදීම මෙම පර්යේෂණයේ අරමුණයි. පර්යේෂණ සිමා ලෙස මෙම පර්යේෂණය සඳහා මුහුණු සාම්පල ලබාගැනීම සිදු කරනුයේ කොකසොයිඩ් මානව රූපාකෘතික කාණ්ඩයෙන් පමණයි. එතුළ ද ආසියාතික කොකසොයිඩ් මානව රූපය 80% භාවිත කරනු ලබයි. මෙම පරිගණක ප්‍රතිචාර ක්‍රියාවලිය සංවේදී වන්නේ සතුට, දුක, තරහ, සමාන්‍ය තත්වය යන මානසික තත්ව මත මුහුණේ සිදුවන චලනයන් සඳහා පමණි. පර්යේෂණ විධික්‍රමය තුළ දී දත්ත රැස්කිරීම සිදු කරන ලද්දේ ස්ථරීකෘත අහඹු නියැදි සංකල්පය පදනමේ ය. එහිදී ස්තරය ලෙස භාවිත කරන ලද්දේ වයස් අවුරුදු 18 සිට 50 දක්වා පිරිස ස්තර 5 කට වෙන් කිරීමෙනි. ලබාගත් දත්ත ගොනු විශ්ලේෂණය සඳහා Microsoft Access, Microsoft Excel මෘදුකාංගයන් හා සංඛ්‍යාංකිත දත්ත විශ්ලේෂණය සඳහා SPSS මෘදුකාංගය ද භාවිත කරන ලදී. දත්ත පදනම් කරගනිමින් නිර්මාණය කරන ලද පරිගණක වැඩසටහන නැවත පළමු අදියරය ලෙස පුද්ගලයන් පස්දෙනකු භාවිතයෙන් කෘතිම බුද්ධි ක්‍රියාවලිය නැවත පර්යේෂණය කිරීම සිදුකරන ලදී. පර්යේෂණ ප්‍රතිඵල ලෙස නිර්මාණය කරන ලද පරිගණක මෘදුකාංගය භාවිතයෙන් භාවිත කරන්නාගේ මුහුණේ ඉරියව්වල වෙනස් වීමක් දැකිය හැකි විය. SPSS මෘදුකාංගයට අදාළව .856 ක් වන අතර, එහි ප්‍රතිඵලය සාර්ථක වීමේ ප්‍රතිශතය 68% පමණ දැකිය හැකිය. පර්යේෂණය නිගමන ලෙස පරිගණක පද්ධතියක් උපයෝගි කරගනිමින් නිර්මාණය කරල ලද ස්වයන්චින්තන මෘදුකාංගයක් මගින් පුද්ගලයාගේ හැඟීම්, ආවේග හා මානසික තත්ව තුළ 40% පමණ ඍජු වෙනසක් සිදු කිරීමේ හැකියාව පවතින බව නිගමනය කළ හැකිය. එහෙත් සමාජීය භාවිත පරීක්ෂණයක් මගින් මෙම දත්තයන්වල යම් වෙනසක් ඇතිවීමට ද සම්භාවිතාවක් පවතී.

**ප්‍රමුඛ පද** - කෘතිම බුද්ධිය, සංගීත පරිගණක තාක්ෂණය, සංගීත චිකිත්සාව, සමාජ සංගීතවේදය, මිනිස් මුහුණ.

[1] තාවකාලික කථිකාචාර්ය, සංගීතවිද්‍යා අධ්‍යයනාංශය, සංගීත පීඨය, සෞන්දර්ය කලා විශ්වවිද්‍යාලය
uprabhashana@gmail.com

# සතත අභ්‍යාසයේ දී නිවැරදි හා විධිමත් තාක්ෂණික ක්‍රමවේද භාවිතය

## (තබ්ලා වාද්‍ය භාණ්ඩය ඇසුරෙන්)

**පී. එච්. එස්. දේශප්‍රිය** [1]

සංගීත භාණ්ඩ වාදනය සාමාන්‍ය මානව චලන ක්‍රියාවලිය අබිබවා ගිය සංකීර්ණ හා සූක්ෂම වූ ද්විහස්ත සමායෝජනයකි. අනෙකුත් මානව චලනයන්ට වඩා වාදයේ දී ශ්‍රවණ ඉන්ද්‍රිය, හස්ත චලන හා මොළයේ ක්‍රියාකාරිත්වය අතර ප්‍රබල සහසම්බන්ධතාවක් ගොඩනැගීම ඊට හේතුවයි. එහෙයින් වාදනයේ නිපුණත්වය, පූර්ණත්වය (Perfection) ළඟා කරගැනීමට හැකිවනුයේ මානසික පුහුණුව (Mental Practice) සහ භෞතික හෙවත් ශාරීරික පුහුණුවේ (Physical Practice) මනා සහසම්බන්ධතාව හා දීර්ඝ කාලීනව නැවත නැවත සිදු කරනු ලබන ක්‍රියාවලියක් මඟින් පමණි. සංගීත භාණ්ඩ වාදනයේ දී එක් එක් වාදන ශෛලියට ආවේණික වාදන ඉරියව් පවත්වා ගැනීම, වාදන ශිල්පක්‍රම, ගති විඥානය, (Dynamics) කාල නිශ්චය හසුරුවා ගැනීම (Laya) ශාරීරික පුහුණුව මඟින් අපේක්ෂා කෙරේ. මානසික පුහුණුව හුදෙක් එක් එක් සරාණා හෙවත් ගුරුකුල ඉගැන්වීම් අනුව විවිධ වන අතර, මානසික පුහුණුවේ ප්‍රකාශනය ශාරීරික පුහුණුව මඟින් නිරූපණය වේ. භාරතීය අවනද්ධ වාද්‍ය භාණ්ඩ අතරින් නාද නිෂ්පාදනයෙහි ඇති සුවිශේෂතාව මෙන්ම වාදනයෙහි පිරිපුන් ගැඹුරු බව, තබ්ලාව විශිෂ්ට අවනද්ධ භාණ්ඩයක් වශයෙන් සැලකීමට හේතු වී ඇත. තබ්ලා වාදන ශෛලීන්ට අවේණික සංකීර්ණ හස්ත චලන ග්‍රහණය කරගැනීමට සෑම පුද්ගලයෙකුටම නොහැකි වීම සහ නිවැරදි තාක්ෂණික ක්‍රමවේද පිළිබඳ අනවබෝධයෙන් සතත අභ්‍යාසයේ නියැලීම මෙම පර්යේෂණයේ ගැටලු වේ. එහෙයින් සංගීතඥභාවය (MusicianShip) ළඟාකර ගැනීමේ දී සතත අභ්‍යාසයේ නිවරැදි තාක්ෂණික ක්‍රමවේද හඳුන්වාදීම මෙම පර්යේෂණයේ අරමුණ යි. සෞන්දර්ය කලා විශ්වවිද්‍යාලයේ තබ්ලා විෂය හාදාරන තෙවන හා සිව්වන වසර විද්‍යාර්ථීන් නියැදිය වශයෙන් තෝරාගත් අතර, ගුණාත්මක පර්යේෂණ ක්‍රමවේදය යටතේ ද්විතීයික මූලාශ්‍රය භාවිතය, සම්මුඛ සාකච්ඡා හා සහභාගීත්ව නිරීක්ෂණ හා අන්තර්ජාලය මෙම අධ්‍යයනයේ දී භාවිත කරනු ලැබී ය. ශාරීරික පුහුණුව මඟින් අපේක්ෂිත පරමාර්ථ ළඟා කරගැනීමට විවිධ තබ්ලා ශෛලීන්ට ආවේණික ප්‍රබන්ධ වාදනය අනිවාර්ය වන අතර දීර්ඝ කාලීන පුහුණුව තුළින් පුද්ගලානු බද්ධ ව දෙඅතෙහි සියුම් අනුවර්තයන් ඇති කරගැනීම අත්‍යවශ්‍ය වේ. එමඟින් ශිල්පියාට ආවේණික ධ්වනි මාධූර්යක් හා වාදනයේ සමබරතාව (Playing Balance) ඇති කරගැනීමට හැකියාව ලැබෙන බව නිගමනය කළ හැකි ය. භාරතීය සංස්කෘතිය හා ගුරුකුල අධ්‍යාපනය මඟින් ලබන මානසික පුහුණුව හා ශිල්පීය විනය පුද්ගල මනෝභාවයන් වෙනස් කිරීමට හේතුවන අතර, ප්‍රතිභාපූර්ණ වාද්‍ය ශිල්පියෙකු බිහිකිරීමට ඉවහල් වේ. එහෙයින් සංගීත භාණ්ඩ වාදනය යනු ශරීරාංග චලන අභ්‍යාසයක් පමණක් නොවන අතර, විධිමත් පුහුණුව හෙවත් සතත අභ්‍යාසයේ අපේක්ෂිත පරමාර්ථ වනුයේ සංගීතාත්මක බව

[1] උත්තර භාරතීය අධ්‍යයනාංශය, සංගීත පීඨය, සෞන්දර්ය කලා විශ්වවිද්‍යාලය

ඇති කර ගැනීම  (Musicality) ශිල්පීය තාක්ෂණික පරමාර්ථ ළඟාකර ගැනීම (Technical Ability) හා අභිවහනය (Performing) යි. එහෙයින් සතත අභ්‍යාසයේ දී නිවැරදි හා තාක්ෂණික ක්‍රමවේද භාවිතය අත්‍යශ්‍ය බව පැහැදිලි කරුණකි.

**ප්‍රමුඛ පද :** තබ්ලා ප්‍රබන්ධ, සරාණා, ලය, ගති විඥානය

# උත්තර භාරතීය රාගධාරී සංගීත විෂයයීය සංයුක්ත සහ වියුක්ත සංකල්ප සාධනය

**(ඕසබල් සහ බෲනර් විසින් ඉදිරිපත් කරන ලද “ඵලදායී ඉගෙනුම්” දැක්ම ඇසුරින්)**

**යූ. ඩබ්. ඒ. සිතාරා මධුෂාණි** [1]

අධ්‍යාපන විෂය සංවර්ධනය වීමට විෂය මාලා ගොඩනැගීමට අධ්‍යාපනය වෙනුවට විවිධ දෘෂ්ටි කෝණ තුළින් දාර්ශනික මතවාද, අධ්‍යාපනය පිළිබඳ පර්යේෂණාත්මක අත්දැකීම් ලැබීම වේ. බෲනර් හා ඕසබල් වැනි අධ්‍යාපන මනෝවිද්‍යාඥයින් විසින් පෙන්වා දුන් ඵලදායී ඉගෙනුම් ක්‍රමවේදය (Effective Learning) මගින් නව විෂය කරුණු අර්ථාන්විත ලෙස ග්‍රහණය කර ගැනීමට අවශ්‍ය මූලික දැනුම් පදනම ශිෂ්‍යයා තුළ තිබිය යුතු බව පෙන්වා දෙයි. සමස්ත දැනුම් සම්භාරය සංයුක්ත සංකල්ප (Concrete Concepts) සහ වියුක්ත සංකල්ප (Abstract Concepts) වශයෙන් වර්ග කළ හැකිය. පාසල් පද්ධතිය තුළ සිදු කෙරෙන ඉගැන්වීම් ක්‍රියාවලිය සම්බන්ධයෙන් මෙම වර්ගීකරණය වඩාත් වැදගත් වේ. උත්තර භාරතීය රාගධාරී සංගීත පාඩම් ඒකකයන්හි සංයුක්ත හා වියුක්ත සංකල්ප සාධනයට අදාළ කොටස් වෙන් කර ගන්නේ කෙසේද යන්න සොයා බැලීම මෙහි පර්යේෂණ ගැටලුව වේ. සංයුක්ත සංකල්ප යනු ගෙය, ගස්, පුටු වැනි දැකිය හැකි අතගා බැලිය හැකි විශේෂ වස්තූන් ඇතුළත් කොට ගොඩනගා ගත් පොදු වර්ගයට ය. මෙම සංයුක්ත සංකල්ප ඉගැන්වීම අසීරු නැත. වියුක්ත සංකල්පය යනු ඉන්ද්‍රිය ගෝචර නොවන එහෙත් මනසේ ගොඩ නගාගත හැකි අමූර්ත සංස්ලේෂණයකි. මෙම වියුක්ත සංකල්ප ගොඩනැගෙනුයේත් එසේම එය තේරුම්ගත හැක්කේත් පියාජේ දක්වන පරිදි අවුරුදු 12 ඉක්ම වූ විධිමත් චින්තක අවධියේ පසුවන ළමයින්ටය. ඒ නිසා පංති කාමරයේ දී උගන්වන්නට බලාපොරොත්තු වන සංකල්ප එම පංතියට උචිතද යන්න ගුරුවරයා කලින් සිතා බැලීමේ අවශ්‍යතාව පිළිබඳ අධ්‍යයනය කිරීම මෙම පර්යේෂණයේ මූලික අරමුණ වේ. මේ සඳහා ගුණාත්මක පර්යේෂණ ක්‍රමවේදය භාවිත කළ අතර ඒ සඳහා ද්වීතියික මුලාශ්‍රය ලෙස පොත්පත්, ලිපිලේඛන, සම්මුඛ සාකච්ඡා, අන්තර්ජාලය ඇසුරින් දත්ත එක්රැස් කෙරිණි. ඒ අනුව සංගීත විෂයෙහි සංයුක්ත සංකල්ප මෙන්ම වියුක්ත සංකල්ප ද හඳුනාගත හැකි අතර, ඉන්දියානු රාගධාරී සංගීත විෂයෙහි එන තිහායි ගොඩනැගීමේ සංකල්පය වියුක්ත සංකල්පයකි. මෙය ඉගැන්වීමට අපහසු වන අතර අවබෝධ කරගත යුතු සංකල්පයකි. එහි සංයුක්ත සංකල්පය සොයා ගනිමින් අවබෝධ කර ගත යුතුය. තිහායි නිර්මාණය කර ගැනීමේ නිශ්චිත ගණිතමය ස්වරූපයක් පවතී. එය පැහැදිලිව අවබෝධ කර ගැනීමෙන් ඕනෑම අයෙකුට තිහායි නිර්මාණය කර ගැනීම අවශ්‍ය මාත්‍රා ප්‍රමාණය මත පිහිටා කළ හැකිය. ඒ අනුව ඉන්දියානු රාගධාරී සංගීත පාඩම් ඒකකයන්හි සංයුක්ත හා වියුක්ත සංකල්ප සාධනයට අදාළ කොටස් වෙන් කර ගැනීම ඉහත කී අර්ථකථනය මගින් නිවැරදිව ලබා ගත හැකි බව නිගමනය කළ හැකිය.

**ප්‍රමුඛ පදඃ** ඵලදායී ඉගෙනුම් ක්‍රමවේදය, භාරතීය සංගීතය, තිහායි, සංයුක්ත සංකල්ප, වියුක්ත සංකල්ප

[1] බාහිර උපදේශක, සංගීත පීඨය, සෞන්දර්ය කලා විශ්වවිද්‍යාලය

# Session 09

| ID | Topic | Author |
|---|---|---|
| **MU/IRS/A/22** | Music Therapy - An aid to well-being | **Sukanya Guha** |
| **MU/IRS/A/42** | Materials, Tunings and Performances: A Survey of Chinese Bowed Zithers in the 21st Century | **Xiong Manyu** |
| **MU/IRS/A/43** | Song Research Methods in China | **Lin Zhi** |

# Music Therapy - An aid to well-being

**Sukanya Guha**[1]

Music is said to be a universal skill where melody and rhythm combine to form an art which expresses specific frames of mind. Music therapy as known through writings and analyses in the context of larger homogeneous societies such as the US or some European countries, aims at accomplishing as individual goal such as self-expression, improving mood and reducing stress. Is this true for all kinds of music therapy? Does local awareness not matter in this regard? One may think that listening to music, composing music, singing or playing instrument can reduce anxiety, premonition and lift oneself from depression. A detailed study has shown in other contexts that music can have a powerful effect on persons with different mood related disorders. Specifically, it was shown that when music passes through the ear drums, it releases an electro chemical chain of events inside the oratory cortex of the brain through rhythm, melody or any tactile dealing with a musical instrument, patients having stroke or brain traumas are positively affected through this simulation in healing processes. Music therapy can increase feelings like calmness, euphoria, confidence, empowerment as well as emotional intimacy. It has to be re-localized and re-individualized, that is my personal experience. Any kind of music associated with some personal experiences can make one feel more about life, so, listening and exercising music can impact one's mind and relax muscles. My paper is about dealing with depression, low esteem, hypertension, loneliness through music therapy, when having considered the indiviual and local exposure and musical experience. As previous descriptions of music therapy most of the time had as a pre-condition that all people involved share the same cultural conditioning or coding about what music is meant and which music is used in the processes, this paper is applying critical theory. The common view on music therapy is unfortunately not universally adoptable. A joint codification of music cannot work the same way as in very significant individuals and situations. This paper should help to locally correct the obvious US American way of therapy, which is a bit too directly applied to Asian Countries.

**Key Words:** Music Therapy, Rhythm, Disorders

---

[1] sukanyaguha07@gmail.com India

# Materials, Tunings and Performances: A Survey of Chinese Bowed Zithers in the 21st Century

**Xiong Manyu**[1]

The bowed zithers that prevailed in China during the Tang Dynasty were known as Yazheng, which gradually faded out of use since the Qing Dynasty. Yet its descendants are still popular in traditional musics today, including Cuoqin in Shandong, Yaqin in Hebei, Wenzhenqin in Putian, Shifan Yazheng in Jinjiang, the seven-string zither of the Zhuang people.In comparison with the studies that follow the histological methodology to pursue the lineages of bowed zithers, this paper is based on synchronic fieldwork that directly addresses the existing circumstances of bowed zithers and their musics in China. From the concrete application of such instruments in various current music genres, I discriminate and research their differences in materials, tunings, performance contexts, consider the contemporary fate of bowed half-tube zithers in China.

**Key words:**

Musical Instruments, Zithers, Chinese Zithers, Tunings, Popular Performances

[1] Shanghai Conservatory of Music, Shanghai, China 421069615@qq.com

# Song Research Methods in China

**Lin Zhi** [1]

As with many other ideas, research methods regarding songs are widely developed in China. It starts early in history, when the texts and tunes of some songs were collected, then some other people took care of the results and published some excerpts. Those excerpts were widely acknowledged as the valid versions, which also imposed a big problem in collecting living examples later, when audiovisual recording equipment was available. Until today, this practice of writing text with some diacritic signs for melodic movements is used to teach and research. Only in some very few cases, melodic variations and language related modifications were investigated. This mainly happened if languages were not Han-Chinese. One example is the songs in the area of Guangxi and Yunnan. This short paper will explore the methods applied to past research. It will also show the gaps in research and the further need of exchange and renewal. Examples can contribute to making a lively contribution. As a result, the exchange of ideas regarding methods in research can find a way to be applied to various regions in the world. Everybody can also see what will be the next challenges. Another outcome might be a joint working group on song research.

**Key Words**

Songs, Research Methods, Redundant Syllables, Word Meaning, Chinese Humanities

[1] Putra University, Malaysia 380075515@qq.com

# Session 10

| ID | Topic | Author |
|---|---|---|
| **MU/IRS/A/06** | බටහිර බෙංගාලයේ 'බාවුල්' ජන සම්ප්‍රදාය කෙරෙහි තන්ත්‍රයානික බුදු දහමේ බලපෑම පිළිබඳ අධ්‍යයනයක්. | **කේ. ජී නිලූෂා දිල්හානි විමලසේන** |
| **MU/IRS/A/37** | ශ්‍රී ලංකාවේ උඩරට නර්තන සම්ප්‍රදායෙහි කලඑළි මංගල්‍යය පිළිබඳ ගුණාත්මක පර්යේෂණයක් | **ටී. ඩී. ගුණරත්න** |
| **MU/IRS/A/26** | උත්තර භාරතීය වාද්‍ය වේදයෙහි ක්‍රම ශිල්ප බිහිකිරීමෙහි ලා ධ්‍රැපද් ගායන ශෛලියෙන් ලද ආභාසය. | **.ඒ. එම්. ආර්. එස්. කේ. අලගියවන්න** |
| **MU/IRS/A/11** | සිරි සුමංගල විද්‍යායතන පිරිවෙනෙහි පෙරදිග සංගීත ඉගෙනුම් - ඉගැන්වීම් ක්‍රියාවලිය පිළිබඳ ගුණාත්මක අධ්‍යයනයක් | **වයි. කේ. යූ. බී යටිවැල්ල, අයි. එස්. වීරක්කොඩි** |

# බටහිර බෙංගාලයේ 'බාවුල් ' ජන සම්ප්‍රදාය කෙරෙහි තන්ත්‍රයානික බුදු දහමේ බලපෑම පිළිබඳ අධ්‍යයනයක්.

**කේ. ජී නිලූෂා දිල්හානි විමලසේන**[1]

බාවුල් යනු ඉන්දීය බටහිර බෙංගාලයේ ජන සම්ප්‍රදායික කොට්ඨාසයක් වන අතර, ස්ව ආගමික, සංස්කෘතික හා සමාජීය කාරණා ඔවුන්ට ම ආවේණික වූ ජන සංගීත භාවිතයක් මගින් ප්‍රකාශ කරන්නා වූ පිරිසකි. බෙංගාලි ජනගහනයෙන් බාවුල් යනු ඉතා සුළු පිරිසක් වුව ද ප්‍රධාන බෙංගාලි සමාජය සහ බෙංගාලි සංස්කෘතිය සඳහා බාවුල්හි බලපෑම දැකිය හැකිය. විවිධ ආගමික මතවාද හා ඍජු දාර්ශනික එකඟතාවලින් ව්‍යුක්තව හැසිරෙන අදේවවාදී ජන කණ්ඩායමක් ලෙස බාවුල් හැඳින්වෙන අතර, ඔවුන්ගේ දර්ශනය වනුයේ මිනිස් ශරීරයයි. ශරීරය හා මනස පුහුණු කිරීමෙන් අන්තරීක්ෂ රතිය *(Cosmic sex),* අන්තරීක්ෂ ප්‍රේමය *(Cosmic love),* අන්තරීක්ෂ ශක්තිය *(Cosmic energy)* වැනි ආධ්‍යාත්මික තත්ව කරා ළඟා විය හැකි බව ඔවුන්ගේ විශ්වාසයයි. මේ පුහුණුව තුළ ඔවුන් ලබන්නා වූ සියලුම අත්දැකීම් ඔවුන්ට ම ආවේණික වූ බාවුල් ගීත හරහා ප්‍රකාශ වේ. බාවුල් සඳහා බෞද්ධ ආගමික බලපෑම කෙසේ ද? යන පර්යේෂණ ගැටලුව මූලික කරගනිමින් මෙම පර්යේෂණය සිදු කෙරුණු අතර, තන්ත්‍රයානික බෞද්ධ දර්ශනයේ බලපෑම ඒ සඳහා ලැබී ඇති බවට උපන්‍යාස ගොඩනගා ගනිමින් එය සිදු කරන ලදී. මෙම පර්යේෂණයේ දී බාවුල් ඉතිහාසය හා විකාශය, බාවුල් සඳහා වන විවිධ ආගමික හා දාර්ශනික මතවාද, බාවුල් ගීත සාහිත්‍යය සහ සංගීතමය වටිනාකම මෙන්ම ජන ගී සම්ප්‍රදායක් ලෙස එහි සුවිශේෂතා පිළිබඳ අධ්‍යයනය කෙරුණු අතර, දත්ත රැස් කිරීමේ ක්‍රමවේදය ලෙස ගුණාත්මක දත්ත රැස් කිරීම හා කතිකා විග්‍රහය නැමැති පර්යේෂණ ක්‍රමවේද භාවිත කරන ලදී. එහිදී ප්‍රාථමික මූලාශ්‍රය සහ ද්විතීයික මූලාශ්‍රය යන දෙවර්ගයෙන් ම දත්ත රැස් කෙරුණු අතර, ප්‍රාථමික මූලාශ්‍රය සඳහා බටහිර බෙංගාලයේ බාවුල්වරු වාසය කරන බිර්භූම් සහ ශාන්ති නිකේතන් ආශ්‍රිත ප්‍රදේශවල ක්ෂේත්‍ර අධ්‍යයනය හා තෝරාගත් බාවුල්වරුන් කිහිප දෙනෙක් හා ක්ෂේත්‍රයේ ප්‍රවීණ පර්යේෂකවරුන් සමඟ සම්මුඛ සාකච්ඡා සිදු කෙරුණු අතර, ද්විතීයික මූලාශ්‍රය මගින් දත්ත රැස් කිරීමේ දී ග්‍රන්ථ, ශාස්ත්‍රීය ලිපි, පර්යේෂණ ලිපි පරිශීලනය සිදු කරන ලදී. මෙම දත්ත විශ්ලේෂණය කරමින් බාවුල් ජන සම්ප්‍රදාය සඳහා බහු ආගමික දර්ශනයන්හි සාරයන් ගේ බලපෑම ලැබී ඇති බවත්, බෞද්ධ ආගමික බලපෑම ලෙස තන්ත්‍රයානයේ බලපෑම ලැබී ඇති බවත්, එය බාවුල් ජන සම්ප්‍රදායට මෙන්ම ඔවුන්ගේ සංගීත භාවිතය සඳහා ද බලපා ඇති බව අධ්‍යයනයේ දී තහවුරු විය.

**ප්‍රමුඛ පදඃ** බාවුල් ජන සම්ප්‍රදාය, අන්තරීක්ෂ ප්‍රේමය, අන්තරීක්ෂ ශක්තිය, තන්ත්‍රයානය.

[1] සහකාර කථිකාචාර්ය, ශ්‍රීපාලි මණ්ඩපය nilusha@spc.cmb.ac.lk

# ශ්‍රී ලංකාවේ උඩරට නර්තන සම්ප්‍රදායෙහි කලඑළි මංගල්‍යය පිළිබඳ ගුණාත්මක පර්යේෂණයක්

ටී. ඩී. ගුණරත්න[1]

වසර කිහිපයක් නර්තන විෂයෙහි මූලික හරඹවල නියැළුණු ආධුනිකයකු එම ශිල්පය මැනවින් ප්‍රගුණ කළ බවට ගුරුවරයා සෑහීමකට පත් වීමෙන් පසු, ඔහු හෝ ඇය නර්තන ශිල්පියෙකු හෝ ශිල්පිනියක ලෙස සමාජගත කිරීම කලඑළි මංගල්‍යයක දී සිදුවන්නකි. මෙය උඩරට නර්තන සම්ප්‍රදායෙහි ආවේණික ලක්ෂණවලින් සමන්විතව ශෛලිය, අරමුණ හා අවස්ථාව අනුව පවත්වනු ලබන නර්තනය, වාදනය, ගායනයෙන් සුපෝෂිත ලාංකේය සංස්කෘතික උත්සවයකි. 'වෙස් මංගල්‍යය,' 'ශීර්ෂාභරණ පැළඳවීමේ මංගල්‍යය' 'හිස වෙස් පැළඳීමේ මංගල්‍යය' ආදි ලෙස ව්‍යවහාර වන මෙකී සංස්කෘතිකාංගය විහාරස්ථානය මූලික කොට පවත්වනු ලබන අතර, ඒ ආශ්‍රිත වත්පිළිවෙත් රැසකි. ත්‍රිවිධ රත්නයේ සහ ගුරු-දෙමාපිය ආශිර්වාදය මැද තත් විෂයෙහි ප්‍රවීණයන් හමුවේ ශිල්ප දැක්වීමට කලඑළි මංගල්‍යයේ දී අවසර හිමිවන්නකි. මෙය ගුණාත්මක පර්යේෂණයකි (Qualitative Research). සිද්ධි අධ්‍යයනය (Case study) සහ සංසිද්ධිවේදී (Phenomenology) අධ්‍යයන ප්‍රවේශ මෙහිලා භාවිත වන්නකි. මෙම අධ්‍යයනයේ අරමුණු කිහිපයකි. ඉගැනුම් - ඉගැන්වීමේ විධික්‍රම අධ්‍යයනය කිරීම, කලඑළි මංගල්‍යයෙහි සංස්කෘතික පසුබිම සහ බහු විෂයික ප්‍රවේශ නිරීක්ෂණය කිරීම, කලඑළි මංගල්‍යයෙහි නූතන ප්‍රවණතා සාකච්ඡා කිරීම ඒ අතර වෙයි. දංකොටුව ප්‍රාදේශීය ලේකම් කොට්ඨාසයෙහි - යෝගියාන ග්‍රාම නිලධාරි වසමෙහි දර්ශන - ශෙහානි කලායතනය මෙහි අධ්‍යයන ප්‍රදේශය විය. අවශ්‍යතාව මත නියැදීම අනුව කලායතනයේ ළමුන් 12 කින් සමන්විත නියැදියක් මෙහි අධ්‍යයන සංගහණය ලෙස යොදාගැනිණ. දත්ත රැස්කිරීමේ විධික්‍රම ලෙස කළ අව්ධිමත් හා විධිමත් සම්මුඛ සාකච්ඡා, ඍජු සහ වක්‍ර නිරීක්ෂණ, ශ්‍රව්‍ය - දෘශ්‍ය විධික්‍රම මෙන් ම නර්තන ගුරුවරයකු ලෙස ලත් අත්දැකීම් සන්නිවේදනයට සංසිද්ධිවේදී අධ්‍යයන ප්‍රවේශය ද මෙකී අධ්‍යයනයේ දී උපයෝගි කර ගැනිණ. කලඑළි මංගල්‍යය කටයුත්ත සඳහා වූ නර්තන ඉගෙනුම් - ඉගැන්වීම් ක්‍රියාවලිය, ගුරු කේන්ද්‍රීය අධ්‍යාපනය, ශිෂ්‍ය කේන්ද්‍රීය ප්‍රායෝගික ක්‍රියාකාරකම් ඇසුරින් ශිෂ්‍ය සාධනය පිළිබඳ සාකච්ඡා කිරීමට මෙහිලා අපේක්ෂිත ය. මග පෙන්වීම, අනුකරණය, පුහුණුව, සතත අභ්‍යාස, සාකච්ඡා, කණ්ඩායම් ක්‍රමය, පියවර ක්‍රමය ආදිය මගින් ශිෂ්‍ය සාධනයෙහි ඉහළ ප්‍රගතියක් ලබා ගත හැකි බව මෙහිලා නිරීක්ෂණය වූවකි. තව ද ශ්‍රී ලාංකේය අස්පර්ශනීය සංස්කෘතික උරුමයක් වන වෙස් මංගල්‍යයෙහි සංස්කෘතික වටිනාකම පිළිබඳ මෙන්ම නර්තනය හා බද්ධ වූ බහු විෂයික (Multi-Disciplinary) ශික්ෂණය පිළිබඳ ව ද මෙහි දී සාකච්ඡා කෙරෙන්නකි.

**ප්‍රමුඛ පද** - වෙස් මංගල්‍යය, නර්තන ඉගෙනුම්-ඉගැන්වීම් ක්‍රියාවලිය, අභිවහනය, ගුරු - ශිෂ්‍ය පරම්පරා, අස්පර්ශනීය සංස්කෘතික උරුමය

[1] ප්‍රාසංගික කලාවේදී, සෞන්දර්ය කලා විශ්වවිද්‍යාලය. දර්ශනපති උපාධි අපේක්ෂක
darshanagunarathne97@gmail.com

# උත්තර භාරතීය වාද්‍ය වේදයෙහි ක්‍රම ශිල්ප බිහිකිරීමෙහිලා ධ්‍රැපද් ගායන ශෛලියෙන් ලද ආභාසය.

**ඒ. එම්. ආර්. එස්. කේ. අලගියවන්න** [1]

ධ්‍රැපද් හෙවත් ධ්‍රැව පද ගායනා ශෛලිය යනු උත්තර භාරතීය සම්භාව්‍ය සංගීතයේ ඛ්‍යාල් ගායන ශෛලිය ට පෙර ප්‍රාචීන යුගයේ සිට පැවත එන ගම්භීර වූ ගායන ශෛලියකි. මෙහි ආලාප ගායනය විශේෂිත වූවකි. එය "නෝම් තෝම් ආලාප" යනුවෙන් හඳුන්වයි. හරි, ඕම්, තන, නන, නෝම්, තෝම් ආදි අක්ෂර භාවිතයෙන් කිසියම් රිද්මයකට අනුව මෙම ආලාප ගායනය සිදු කරනු ලබයි. ස්ථායි, අන්තරා සංචාරි, ආභෝග යනුවෙන් කොටස් හතරක් අන්තර්ගත මෙම ගායන ශෛලිය, තාලය හා රිද්මය ප්‍රධාන කොට ගත්තකි. සම ගුණ, දෙගුණ, තෙගුණ, සිව් ගුණ, හය ගුණ, අටගුණ ආදි වශයෙන් විවිධ ගුණකිරීම් තාලානුබද්ධ ව සිදුකිරීම මෙම ගායන ශෛලියට සුවිශේෂී වූවකි. මේ සඳහා තාල වාද්‍ය භාණ්ඩය ලෙස පඛාවාජය යොදාගනී. මෙහිදී වාද්‍ය වේදය ගත් කල මුල් කාලීනව ඒ තුල තන්ත්‍රකාරී අංගවලින් පූර්ණ වූ රීතියක් අනුගමනය කරන ලදී. පසුකාලීනව උත්තර භාරතීය ධ්‍රැපද්, ධමාර් ඛ්‍යාල් යන ගායන ශෛලීන්ගේ ආභාසය ලබමින් ගායකී අංග ප්‍රධාන කොටගත් වාදන රීතියක් අනුගමනය කිරීම දැකගත හැකිය. ඒ අනුව උත්තර භාරතීය වාද්‍ය වේදයෙහි අන්තර්ගත ජෝඩ් ආලාප, ඣලා, උපජ්, තිහායි වැනි ශිල්ප ක්‍රම භාවිතය හා ධ්‍රැපද් ගායනා ශෛලිය අතර කිසියම් සමානකමක් දක්නට ලැබේ. මෙම පර්යේෂණයට පාදක වී ඇති ගැටලුව වන්නේ උත්තර භාරතීය වාද්‍ය වේදයෙහි ක්‍රම ශිල්ප බිහිකිරීමෙහි ලා ධ්‍රැපද් ගායන ශෛලියෙහි ආභාසය ලබා ගත්තේ ද යන්නයි. මෙහිදී ශාස්ත්‍රීය ධ්‍රැපද් ගායක මහාචාර්ය රිත්වික් සන්යාල් මහතා සමඟ කරන ලද සම්මුඛ සාකච්ඡා සහ ධ්‍රැපද් මේලා, ගංගා මහෝත්සවය වැනි ප්‍රසංග නැරඹීම මගින් ලබාගත් අත්දැකීම් ඇසුරින් මෙම පර්යේෂණය සිදු කිරීමට අපේක්ෂා කෙරේ.

**ප්‍රමුඛ පද** - ධ්‍රැපද්, උත්තර භාරතීය සංගීතය, වාද්‍යවේදය, ගායන වේදය, නෝම් තෝම් ආලාප, තන්ත්‍රකාරී, ගායකී අංග

[1] ජ්‍යෙෂ්ඨ කථිකාචාර්ය, උත්තර භාරතීය සංගීත අධ්‍යයනාංශය, සංගීත පීඨය, සෞන්දර්ය කලා විශ්වවිද්‍යාලය ravindra.alagiyawanna@gmail.com

# සිරි සුමංගල විද්‍යායතන පිරිවෙනෙහි පෙරදිග සංගීත ඉගෙනුම් - ඉගැන්වීම් ක්‍රියාවලිය පිළිබඳ ගුණාත්මක අධ්‍යයනයක්

**වයි. කේ. යූ. බී යටිවැල්ල /අයි. එස්. වීරක්කොඩි** [1]

මූලික පිරිවෙන, මහ පිරිවෙන හා විද්‍යායතන පිරිවෙන් නමින් පිරිවෙන් අධ්‍යාපන ආයතන ත්‍රිත්වයකි. විද්‍යායතන පිරිවෙනෙහි සංගීත අධ්‍යාපන ඉගෙනුම් - ඉගැන්වීම් ක්‍රියාවලිය විමසීම සහ ශිෂ්‍ය සාධනය නිරීක්ෂණය කිරීම විමසීම මෙහිලා අරමුණු වෙයි. මෙම අධ්‍යයනය ගුණාත්මක පර්යේෂණයකි (Qualitative Research). එහි දී සිද්ධි අධ්‍යයනය සහ සංසිද්ධිවේදී අධ්‍යයන ක්‍රමවේදය උපයෝගි කරගැනෙයි. ගම්පහ දිස්ත්‍රික්කයෙහි විද්‍යායතන පිරිවෙන් හතරක් දැනට ක්‍රියාත්මක වෙයි. එනම් කල්‍යාණි ප්‍රදීප විද්‍යායතන පිරිවෙන, විද්‍යාදීප විද්‍යායතන පිරිවෙන, ශ්‍රී ධීරානන්ද විද්‍යායතන පිරිවෙන සහ සිරි සුමංගල විද්‍යායතන පිරිවෙන ආදි ලෙසිනි. අවශ්‍යතාව මත නියැදීම අනුව ගම්පහ දිස්ත්‍රික්කයෙහි අත්තනගල්ල ප්‍රාදේශීය ලේකම් කොට්ඨාශයට අයත් සිරි සුමංගල විද්‍යායතන පිරිවෙන මෙහි අධ්‍යයන සංගහණය විය. දත්ත රැස්කිරීමේ උපකරණ ලෙස විධිමත් /අවිධිමත් සම්මුඛ සාකච්ඡා හා සහභාගිත්ව නිරීක්ෂණය මෙහිලා යොදාගැනිණ. පෙරදිග සංගීත විෂය හදාරන හයවැනි ශ්‍රේණියේ සිට එකොළොස්වැනි ශ්‍රේණිය දක්වා 27 දෙනෙකුගෙන් සමන්විත ශිෂ්‍ය නියැදියක් ඇසුරෙන් මෙකී අධ්‍යයනය සිදුකෙරෙයි. ග්‍රන්ථ, සඟරා, කෝශග්‍රන්ථ, විද්‍යුත් මූලාශ්‍රය පදනම් වූ විෂයානුබද්ධ දත්ත පරික්ෂාවේ දී පිරිවෙන් විද්‍යායතන සංගීත අධ්‍යාපනය පිළිබඳ විධිමත් පර්යේෂණ මෙතෙක් සිදු කර නොමැති බව සාහිත්‍ය සමීක්ෂණයේ දී පෙනී ගියෙන් එකී පර්යේෂණ හිඩැස පූර්ණය කරනු වස් මෙකී අධ්‍යයනය දායක වනු ඇත. දේශන, සාකච්ඡා, කණ්ඩායම්, පැවරුම්, ප්‍රදර්ශනාත්මක, අනුකරණාත්මක විධික්‍රම මෙන්ම එළිමහනේ දී කෙරෙන ශිෂ්‍ය ක්‍රියාකාරකම් ද මෙහිලා දැකිය හැකි විය. පිරිවෙන් විද්‍යායතවල සංගීත විෂය ඉගෙනුම් සහ ඉගැන්වීම් කාර්යය සංවර්ධනය කළ හැකි විධික්‍රම සොයාබැලීම සහ හඳුන්වා දීම මෙහි මුඛ්‍ය අරමුණ වන අතර විෂයානුබද්ධ මෙන් ම ආයතනික සංවර්ධනය උදෙසා ද මෙවැනි අධ්‍යයන දත්ත පිටිවහලක් බව පෙනී යන්නකි.

**මුඛ්‍ය පද**

විද්‍යායතන පිරිවෙන, සංගීත අධ්‍යාපනය, ඉගෙනුම් - ඉගැන්වීම් ක්‍රියාවලිය, ගුණාත්මක පර්යේෂණ, පෙරදිග සංගීත විෂයමාලාව

[1] පිරිවෙන් අධ්‍යක්ෂක (සංගීත) හා දර්ශනසූරි උපාධි අපේක්ෂක - සෞන්දර්ය කලා විශ්වවිද්‍යාලය, අධ්‍යක්ෂ (සී. ද.එස් කුලතිලක සංරක්ෂණ හා පර්යේෂණ ඒකකය) සෞන්දර්ය කලා විශ්වවිද්‍යාලය,

# Session 11

| ID | Topic | Author |
|---|---|---|
| **MU/IRS/A/32** | සිංහල නැළවිලි කවියේ අනන්‍යතා ලක්ෂණ | **සමන් පනාපිටිය** |
| **MU/IRS/A/51** | Nata Sankirtana: a cultural heritage of Manipur State- India | **Washeera Salgamuwa** |
| **MU/IRS/A/40** | ප්‍රේමසිරි කේමදාස විසින් නිර්මාණය කළ ඔපෙරාවන්හි කටහඬ නිෂ්පත්තිය පිළිබඳ විමර්ශනයක් | **ඉන්දිකා උපමාලි** |
| **MU/IRS/A/01** | මනිරත්නම් විසින් අධ්‍යක්ෂණය කරන ලද බොම්බේ චිත්‍රපටයේ ගීත හා සංගීතය මගින් සන්නිවේදනය කෙරෙන හින්දු මුස්ලිම් අන්තර් ආගමික ගැටුම | **එස්. ඒ. ෆාතිමා ශානාස්** |
| **MU/IRS/A/12** | සුනිල් සාන්ත සහ හෙළ හවුල අතර සබැඳියාව පිළිබඳ අධ්‍යයනයක් | **චින්තක රණසිංහ** |
| **MU/IRS/A/27** | හින්දුස්තානි ශාස්ත්‍රීය සංගීත භාවිතය තුළ වයලිනයේ නව ප්‍රවණතා | **ඒ. මහේන්ද්‍ර හේමන්ත කුමර ප්‍රනාන්දු** |

# සිංහල නැළවිලි කවියේ අනන්‍යතා ලක්ෂණ

**ආචාර්ය සමන් පනාපිටිය** [1]

මෙම විමර්ශනය 1990 සිට 2000 කාලය තුළ ශ්‍රී ලංකාවේ විවිධ ප්‍රදේශවල දී පටිගත කරන ලද නැළවිලි කවිවල ප්‍රකාශ වන සමාජීය, සංස්කෘතික හා නාදමය ලක්ෂණ පිළිබඳ අවධානය යොමු කර ඇත. මෙම සාකච්ඡාව මාතෘත්වයේ ප්‍රකාශන ගණනාවක් ගවේෂණය කරනු ඇත. මෙම ලිපියේ මුඛ්‍ය පරමාර්ථය වන්නේ සිංහල නැළවිලි ගායනයේ දී ඇතිවන නාදමය අනන්‍යතා හඳුනා ගැනීමත්, ඒවාට මූලික වූ සංස්කෘතික හා සමාජීය හේතු මෙන් ම සංගීතාත්මක භාවිතය පිළිබඳ විමර්ශනය කිරීමත් ය. සිංහල නැළවිලි කවියේ භාවිත නාදමය සංරචනය උක්ත කවියෙන් ප්‍රකාශවන අර්ථය හා අන්තර් සම්බන්ධතාවක් ඇති කරන්නේ ද යන්න මේ සඳහා යොදා ගනු ලබන පර්යේෂණ ගැටලුවයි. නැළවිලි කවියේ මුඛ්‍ය පරමාර්ථය වන දරුවා නිදි කරවීම පමණක් නැළවිලි කවි බිහිවීමට ප්‍රධාන හේතු සාධකය සේ පෙනුණත් එහි ඇත්තේ සංස්කෘතික හා සමාජීය පරිණාමයේ සැබෑ අර්ථය යි. රහසිගත මාතෘ හැසිරීම්වල සංස්කෘතික ලෝකය හා මානසික ගැටුම්වල ප්‍රභවයන් පිළිබඳ මනෝ විශ්ලේෂණ උක්ත කවිවල අන්තර්ගත වීම විශේෂයෙන් හුවා දැක්විය හැකිය. සිංහල නැළවිලි කවි යනු වීරත්වය, කරුණාව, දයාව වැනි භාවමය හැඟීම් මෙන් ම ඓතිහාසික ජන මූලාශ්‍රය ප්‍රකට කරන ගායන වෙසෙසකි. දරුවන්ට ගායනය කිරීමේ පුළුල් අවබෝධයක් සහිත දැනුමක් හා පුරුද්දක් සඳහා උපස්ථායකරණයට අදාළ යෝජනා මෙමගින් ඉදිරිපත් කිරීම දැකගත හැකි ය. සිංහල නැළවිලි කවි යනු මෘදු හා හැඟුම්බර ගායන ප්‍රවර්ගයකි. නැළවිලි කවියේ අන්තර්ගත නාදමාලාව හෝ නාද රූප මව ගේ ආධ්‍යාත්මික දරු ප්‍රේමයේ ප්‍රතිඵලයකි. උක්ත ගායනය ඉතා සරල ය. විචිත්‍ර ය. එය භාවමය සන්නිවේදන ශක්‍යතාවක් සහිත ගායනයකි. එය නිර්මාණය වන්නේ ක්ෂණිකව ය. දරුවා නැළවීමේ අවශ්‍යතා ව ඇති වූ විට තම හිතට දැනෙන හැඟීම් ගයන්නට පෙළඹීමෙන් නැළවිලි කවිය නිර්මාණය වේ. ඒ සඳහා ඔවුන් විසින් භාවිත කරන ලද්දේ ඔවුන් අනුදත් සමාජ සංස්කෘතික මූලයන් වීම මෙහි ඇති ප්‍රධාන ලක්ෂණය යි. නැළවිලි කවියේ භාවිත පද හා අර්ථ එකී නාද සංරචනය සඳහා කිසිඳු සම්බන්ධතාවක් පෙන්නුම් කරන්නේ නැත. නාදමාලාව හා නාද යෙදුම් නැළවිලි කවියේ ස්වභාවය හා රිද්මයට අනුව නිර්මාණය වී ඇතත් ඒවායෙහි භාවිත අර්ථවලින් කියැවෙන්නේ සමාජ සංස්කෘතික පරිණාමයන් හා මානසික තත්ත්වයන් ය. ඒ සියලු ප්‍රකාශනයන් සඳහා නැළවිලි කවිය භාවිත කරන්නේ ඉතා මෘදු, සියුම් නාද සංරචනා කිහිපයක් පමණි.

**මුඛ්‍ය පදඃ** නැළවිලි කවිය, උපස්ථායකරණය, නාදමය සංරචනය, රිද්මරටා, නාදරූප,

[1] පීඨාධිපති, මානවවංශ සංගීත විද්‍යා අධ්‍යයනාංශය, සංගීත පීඨය, සෞන්දර්ය කලා විශ්වවිද්‍යාලය

# Nata Sankirtana: a cultural heritage of Manipur State- India

**Dr. Washeera Salgamuwa**[1]

With the advent of Hinduism, the devotional singing like NataSankirtana was introduced in Manipur. A sloka from the fourth sakandh of Srimad Bhagavad Mahapuran describes that Sankhya, Tarya, Mridanga, Dunduvi etc. are used for devotional purposes. Drum beats, songs and dance presented before the gods have been known as Gandhvarma from the Vedic period onwards.Therefore, Sankirtanais a perfect representation of Vedic culture and it has been used differently in many stages of religious transformations. Despite some differences, most of the religious occasions related to the four Vedas such as, Rig, Sam, Yajur and Athrarvan were associated with Sankirtana. In this continuous process, Sankirtana became more influential as the so-called devotional movement flourished with in India Bhagavad religi.It is a known fact that the singing styles of Sankirtana were derived from Kirtan. We may analyze the original sources of Sankirtana and Kirtan in two different regions in India. The form of Sankirtana performed in the South and the North India. The Manipuri singing style of Sankirtana is called Nata Sankirtana. When the word "Nata" is placed before the word "Sankirtana", it becomes more meaningful. The term Natais a Sanskrit word meaning "to act" or "to dance". In the classical definition a "Nata" is the actor or performer who has the capability to express or act.

**Key words:** Nata, Sankirtana, Raasleela, Rituals, Krishna-Radha

[1] Head of the Department, Department of Sabaragamu Dance, Faculty of Dance & Drama, University of Visual and performing Arts

# ප්‍රේමසිරි කේමදාස විසින් නිර්මාණය කළ ඔපෙරාවන්හි කටහඬ නිෂ්පත්තිය පිළිබඳ විමර්ශනයක්

**ඉන්දිකා උපමාලි** [1]

ඔපෙරාව මිනිසාගේ කලාත්මක භාවිතයෙහි අද්විතීය අංගයක් ලෙස හඳුන්වනු ලැබේ. එය කෘතහස්ත මිනිස් ගායනයෙන් ද කවිය, සංගීතය, සංරචනය, නාටකය, නර්තනය, චිත්‍රය යන සකල විධ කලාවන් ඒකරාශී වීමෙන් ද සැදුම්ලත් සාමූහික කලා ප්‍රකරණයකි. දහසයවැනි ශත වර්ෂයෙහි ඉතාලියෙහි බිහි වූ ඔපෙරාවෙහි මවු භාෂාව ඉතාලි භාෂාවයි. එම නිසා ඉතාලි භාෂාවත් ඔපෙරාවත් අතර ඇති සම්බන්ධතාව මුල් කාලීන ඔපෙරා සම්ප්‍රදායෙහි ම අනන්‍යතා ලක්ෂණයක් කොට පිළිගැනුණි. 18 වන ශතවර්ෂය වන විට ප්‍රංශයත්, ජර්මනියත්, ස්පාඤ්ඤය හංගේරියාව, එංගලන්තය වැනි රටවල් තම මවුභාෂාවෙන් ඔපෙරා නිර්මාණයට පෙලඹුණි. ශ්‍රී ලාංකේය සංගීත සංස්කෘතිය තුළ කවිය, ගීත, ගුවන් විදුලි ගීත නාටක, ගීත නාටක, සංගීත රංග, නාඩගම්, නූර්ති, ටීටර් යනාදී වශයෙන් සංගීත රංග සහ ගීතාත්මක නාට්‍ය පිළිබඳ අසන්නට දකින්නට ලැබුණ ද, ඔපෙරා ගායන සම්ප්‍රදාය පිළිබඳ වර්ධනීය වූ අවස්ථා දුර්ලබය. කේමදාස විසින් නිර්මාණය කරන ලද මානසවිල (1990), දොරමඬල (1994), වර්ණදාසි (2000), අග්නි (2007) යන ඔපෙරාවන් හි ගායන විලාසය තුළින්, සිංහල භාෂාත්මක ඔපෙරාවකට අනන්‍ය හඬ තාක්ෂණ ක්‍රමවේද හඳුනාගත හැකිවේ ද? යන්න මෙහි පර්යේෂණ ගැටලුව වේ. කේමදාස විසින් සිංහල භාෂීය ඔපෙරා නව සංගීත ශානරය සහ ඒ තුළින් හඳුනා ගැනෙන හඬ තාක්ෂණ ක්‍රමවේද හඳුනා ගැනීම සහ ශ්‍රී ලාංකේය සංගීත සංස්කෘතියට නව ගායන තාක්ෂණ ක්‍රමවේද හඳුන්වා දීම මෙහි අරමුණයි. කේමදාසගේ සියලු ඔපෙරාවන් අතරින් ජාත්‍යන්තර මට්ටමේ ඉදිරිපත් කිරීමක් දක්වා ප්‍රාසංගිකව ඉදිරිපත් කෙරුණු එකම ආරියාව Shreya Aria වයි. තරංගා ගුණතිලක නමැති ශ්‍රී ලාංකේය සම්භවයක් ඇති ඇමරිකාවෙහි වෙසෙන ජනප්‍රිය සොප්රානෝ ගායිකාව වරක් විදේශීය රටක Sun Symphony කණ්ඩායම සමඟ ගායනා කරන ලදී. දීර්ඝ කාලයක් බටහිර ඔපෙරා ශෛලිය ප්‍රගුණ කරනු ලැබූ තරංගාගේ ගැයුමත්, කේමදාසගේ මුල් කෘතියේ ගායනා කරන ලද ප්‍රාසංගික ගායනයන් තුලනාත්මකව අධ්‍යයනය කිරීම මඟින් පෙනී යන කාරණා ගණනාවක් ඇත. ගුණාත්මක පර්යේෂණ ක්‍රමවේදය යටතේ ද්විතීයික දත්ත ලෙස පොත්පත්, සඟරා, සම්මුඛ සාකච්ඡා, වීඩියෝ පට, හඬ පට, සහභාගීත්ව නිරීක්ෂණ මේ සඳහා යොදා ගනිමින් කේමදාසගේ මානසවිල සහ අග්නි ඔපෙරා ද්විත්වයේ ගායනා කිහිපයක් උදාහරණ ලෙස ගෙන ඔහු විසින් සිංහල භාෂීය ඔපෙරා මගින් හඳුන්වා දුන් නව සංගීත ශානරය සහ ඉන් ඉදිරිපත් කෙරුණු නව හඬ තක්ෂණ ක්‍රමවේද හඳුනාගැනීමට හැකි බව නිගමනය කළ හැකිය.

**ප්‍රමුඛ පද** ඔපෙරා, සංගීතය, කටහඬ, ගීත නාට්‍ය

[1] ජ්‍යෙෂ්ඨ කථිකාචර්ය, ව්‍යවහාරික හා ජන සංනිවේදන අධ්‍යයනාංශය, සෞන්දර්ය කලා විශ්වවිද්‍යාලය
indika.s@vpa.ac.lk

# මනිරත්නම් විසින් අධ්‍යක්ෂණය කරන ලද බොම්බේ චිත්‍රපටයේ ගීත හා සංගීතය මගින් සන්නිවේදනය කෙරෙන හින්දු මුස්ලිම් අන්තර් ආගමික ගැටුම

**එස්.ඒ. ෆාතිමා ශානාස්** [1]

ඉන්දීය සිනමා ඉතිහාසයේ ආන්දෝලනයකට තුඩු දුන් සිනමා නිර්මාණයක් ලෙස 1995 වර්ෂයේ නිෂ්පාදිත මනිරත්නම්ගේ 'බොම්බේ' චිත්‍රපටය පෙන්වා දිය හැකි ය. හින්දු රැඩිකල්වාදීන් බාබ්රි දේවස්ථානය විනාශ කිරීම හේතුවෙන් ඇති වූ හින්දු මුස්ලිම් ගැටුම තේමා කර ගනිමින් නිර්මාණය කර ඇති මෙම සිනමාපටය ඉන්දීය ජනප්‍රිය සිනමා ප්‍රවර්ගය නියෝජනය කරයි. චිත්‍රපටයේ පළමු භාගය ගොඩනගා ඇත්තේ හින්දු ජාතික තරුණයෙක් සහ මුස්ලිම් ජාතික තරුණියක් අතර ඇති වන ප්‍රේම සම්බන්ධතාවක් මූලික කර ගනිමිනි. චිත්‍රපටයේ දෙවැනි භාගය හින්දු මුස්ලිම් ජාතිවාදී අන්තර් ආගමික ගැටුම්වලට හසුවන ඔවුන්ගේ ජීවිත මගින් ඉන්දීය හින්දු මුස්ලිම් ගැටුම පිළිබඳ සාකච්ඡා කෙරේ. චිත්‍රපටය අවසාන වන්නේ විසිරී ගිය පවුල එකට එක් කරමිනි. ජනප්‍රිය සිනමා ප්‍රවර්ගය නියෝජනය කරනු ලබන මෙම චිත්‍රපටය හින්දු මුස්ලිම් අන්තර් ආගමික අරගලය වැනි දේශපාලනික තේමාවක් ප්‍රේමය වැනි විෂයක් මූලික කර ගනිමින් සාකච්ඡා කරනු ලබන්නේ කෙසේදැයි මෙම අධ්‍යයනය මගින් මූලික ව ම විමසනු ලබයි. එසේ ම ගීතය හා සංගීතය උපයෝගි කර ගනිමින් අවස්ථා හා සිද්ධි ගොඩනැගීම ඔස්සේ සමාජීය ගැටලු සාකච්ඡා කිරීම සිදු කර ඇත්තේ කෙසේ ද? යන්න මෙම පර්යේෂණ පත්‍රිකාව මගින් විමර්ශනය කර ඇත. ඒ සඳහා අන්තර්ගත විශ්ලේෂණ ක්‍රමවේදය උපයෝගි කරගනිමින් බොම්බේ සිනමාපටයේ සිද්ධි හා අවස්ථා ගොඩනැගීම සඳහා සංගීතය හා ගීතය උපයෝගි කොට ගෙන ඇති ආකාරය විශ්ලේෂණය මගින් සමාජීය ගැටලුවක් සෞන්දර්යාත්මක ව සාකච්ඡා කර ඇති ආකාරය හඳුනාගෙන ඇත. එහි දී හඳුනාගත හැකි වූයේ පෙළ තුළ සිද්ධි, අවස්ථා ගොඩනැගීම සඳහා සංගීතය හා ගීතය නිර්මාණාත්මක ව ගොඩනැගීම මගින් අන්තර් ආගමික ගැටුම හා සංහිඳියාව පිළිබඳ ප්‍රේක්ෂකයා වෙත සිනමා නිර්මාණය මගින් ප්‍රබල සන්නිවේදනයක් සිදු කර ඇති බව යි. තව ද, සිනමා සෞන්දර්ය මගින් විශ්වාස පද්ධති වෙනස් කිරීම ඔස්සේ නිර්මාණාත්මක ගැටුම් පරිවර්තනයක් වෙත සිනමා නිර්මාණය ගොඩනැගීම සඳහා සංගීතය හා ගීතය ප්‍රබල දායකත්වයක් සපයා ඇති බව ද මෙම අධ්‍යයනය මගින් නිගමනය කරයි.

**ප්‍රමුඛ පද** - බොම්බේ චිත්‍රපටය, සිනමා සංගීතය, ගීතය, ජාතිවාදී අරගලය. සංහිඳියාව

[1] ජ්‍යෙෂ්ඨ කථිකාචාර්ය, ජනමාධ්‍ය අංශය, කොළඹ විශ්වවිද්‍යාලය **shanaz@jlm.cmb.ac.lk**

# සුනිල් සාන්ත සහ හෙළ හවුල අතර සබැඳියාව පිළිබඳ අධ්‍යයනයක්

**චින්තක රණසිංහ**[1]

මෙම පර්යේෂණය මඟින් අපේක්‍ෂා කරන්නේ සුනිල් ශාන්ත (1915/1981) හා හෙළ හවුල (1941) අතර පැවති සම්බන්ධයේ චින්තනමය පදනම අධ්‍යයනය කිරීමයි. මෙහි දී සුනිල් ශාන්තගේ භූමිකාව හා හෙළ හවුලේ ගොඩනැඟීම පිළිබඳ ලේඛන, නන්විද වාර්තා යනාදිය අධ්‍යයනය කරමින් සුනිල් ශාන්ත භූමිකාව හෙළ හවුල වෙත ආකර්ෂණය වීම හා එමඟින් ඔහු තුළ ඇති වූ චින්තන විපර්යාසය විමර්ශනයට ලක් කෙරේ. හෙළ හවුල කුමනාකාර චින්තනයක් සමකාලීන සමාජය වෙත ගෙන ආවේ ද? එය ස්ථාපිතව පැවති සමාජ, සංස්කෘතික චින්තනය අභියෝගයට ලක්කළේ කෙසේ ද? යන්න මෙහි දී විමසුමට ලක් වේ. ඒ සඳහා හෙළ හවුලේ පුරෝගාමී නායකයා වන කුමාරතුංග මුනිදාසගේ (1887/1944) අදහස් කෙරෙහි විශේෂ අවධානයක් යොමු කෙරේ. විශේෂයෙන් කුමාරතුංග සංගීතය කෙරෙහි දැක් වූ ආකල්පය හා සුනිල් ශාන්ත දැක් වූ ආකල්පය තුලනාත්මකව විමසමින් සුනිල් ශාන්ත හෙළ හවුලෙන් ලැබුවේ කුමනාකාර චින්තනමය ආභාසයක් ද යන්න ගෙනහැර පෑමත් එය විභාග කිරීමත් මෙහි දී සිදුවේ. මෙම පර්යේෂණයේ ක්‍රමවේදයාත්මක රාමුව සැකසෙනුයේ පුස්තකාල පරිශීලනය මඟිනි. තෝරාගත් භූමිකා සංසන්දනය කරමින් ඔවුනොවුන්ගේ අන්තර් සම්බන්ධයේ චින්තනමය පදනම විශ්ලේෂණය කිරීම සඳහා "කතිකා විශ්ලේෂණය" (Discourse Analysis) න්‍යායාත්මක ප්‍රවේශය යොදාගැනීම සිදු කෙරිණි. එහි දී යම් තෝරාගත් යුගයක සමාජ, සංස්කෘතික, දේශපාලනික චින්තනය නිර්මාණය වූ ආකාරය විශ්ලේෂණයට ලක් කෙරේ.

**ප්‍රමුඛ පද** - සුනිල් ශාන්ත, හෙළ හවුල, සුනිල් ශාන්ත හා හෙළ හවුල අතර සම්බන්ධය, හෙළ අනන්‍යතාව

[1] ජ්‍යෙෂ්ඨ කථිකාචාර්ය, සිංහල අංශය, කැලණිය විශ්වවිද්‍යාලය

# හින්දුස්තානි ශාස්ත්‍රීය සංගීත භාවිතය තුළ වයලිනයේ නව ප්‍රවණතා

**ඒ. මහේන්ද්‍ර හේමන්ත කුමාර ප්‍රනාන්දු** [1]

බටහිර සම්භවයකට උරුම වයලීනය, ලෝක සංගීත ක්ෂේත්‍රය තුළ ප්‍රධාන තත් වාද්‍යක් ලෙස හඳුනාගත හැකිය. මෙහි ආකෘතිය මනුෂ්‍යයාගේ විද්‍යාත්මක සැකස්ම හා අන්නෝන්‍ය බැඳීමකින් සමන්විත වීමත්, ප්‍රධාන වශයෙන් එහි නාදමය ගුණය මිනිස් කටහඬ හා සමපාත වීම ඉතා වැදගත් කරුණකි. සංගීත විචාරකයින් හා මතධාරීන් පවසන අන්දමට වයලිනයේ මන්ද්‍ර. මධ්‍ය සප්තක පිරිමි කට හඬටත්, මධ්‍ය, උච්ච සප්තක කාන්තා කටහඬට ආදේශකයක් වන බවයි. වයලිනයේ ඉතිහාසය පිළිබඳ විවිධ මත ඉදිරිපත් වී ඇති පසුබිමක රාවණ හස්ත වීණාව හෙවත් "ඒකතාරය" යන තත්වාද්‍යයෙහි වර්ධනීය දිගුවක් ලෙස භාරතීයයන් හඳුන්වාදීම ද බැහැර නොකළ යුතු කරුණුකි. කෙසේ වුව ද බටහිර සම්භවය ප්‍රධානව වයලීනයට ම ආවේණික ශිල්ප ක්‍රම ලෝක සංගීත භාවිතාව තුළ ස්ථාපිත වීම වැදගත් කරුණුකි. මෙලෙස ව්‍යාප්ත වූ වයලීනය, හින්දුස්තානි ශාස්ත්‍රීය සංගීත භාවිතාව තුළ එලෙසම යොදාගන්නේ ද යන කරුණ වැදගත් වේ. බටහිරින් වෙනස් වූ වෙනත් ස්වාධීන සංගීත ආකෘතියකින් පෝෂණය ලබන හින්දුස්තානි ශාස්ත්‍රීය සංගීතයේ ශිල්ප ක්‍රම හා අනුගත වෙමින් වයලීනය තම ස්වකීය සම්ප්‍රදාය තුළ වෙනස් මුහුණුවරකින් ඉස්මතු කිරීමේ අවශ්‍යතාව පෙන්නුම් කෙරේ. එක් ස්වරයක් මූලික කොටගෙන නාද මධුරතා නිර්මාණය කිරීමේ දී මීන්ඩ්, ගමක්, කන් වැනි ප්‍රධාන ශිල්ප ක්‍රම මෙන්න රාගවල යෙදෙන ගම්භීර, චංචල ප්‍රකෘති ලක්ෂණ හා පූර්වාංගයේ හා උත්තරාංගයේ භාවිතාව ඉතාම වැදගත් කරුණකි. මුල්කාලීනව තන්ත්‍රකාරි අංග ප්‍රධාන කොටගත් වාද්‍ය රීතියක් අනුගමනය කළ ද වර්තමානය වන විට ගයකී අංග මූලික කොටගත් වාදන රීතියක් අනුගමනය කිරීමේ ප්‍රවණතාව ද මෙම වෙනස් වීමට බලපාන හේතු සාධක වේ. මෙම ගැඹුරු ශාස්ත්‍රීය භාවිතය සාක්ෂාත් කරගැනීම උදෙසා හින්දුස්තානි ශාස්ත්‍රඥයින් වයලිනයේ මෙතෙක් පැවති සුසර කිරීමේ ක්‍රමවේදය වෙනසකට භාජනය කරන්නේ තම ස්වාධීන අනන්‍යතාව පිළිබිඹු කිරීමේ එක් අරමුණක් ලෙසය. (ස ප ස ප), එමෙන්ම වයලීනයේ සැකැස්ම (Body) වෙනස් කරමින් හින්දුස්තානි ශාස්ත්‍රිය සංගීතයේ අනන්‍යතා මතුකර ගැනීම උදෙසා වර්තමානය වනවිට විවිධ පර්යේෂණ මට්ටමේ අත්හදාබැලීම් සිදුකරනු ලබයි. තත් ප්‍රමාණය වැඩි කිරීම, අනුනාද තත් හෙවත් තරාෆ් යොදා ගැනීම, වියෝලාව භාවිතය, තත් නිර්මාණය කිරීම ඒ අතර වේ. මෙලෙස වයලීනයේ මූලික ස්වරූපය වෙනස් කිරීම තුළින් හින්දුස්තානි ශාස්ත්‍රීය සංගීතයේ අනන්‍යතා ලක්ෂණ පිළිබිඹු වේද යන්න මෙම පර්යේෂණයේ ගැටලු වේ. පර්යේෂණ ක්‍රමවේදය ලෙස ශාස්ත්‍රීය ග්‍රන්ථ පරිශීලනය, හින්දුස්තානි ශාස්ත්‍රීය වයලීන වාදන ශිල්පීන් සමඟ සම්මුඛ සාකච්ඡා, සහභාගීත්ව නිරීක්ෂණ, අන්තර්ජාල තොරතුරු මේ සඳහා යොදා ගැනිණ.

**ප්‍රමුඛ පද** - ශිල්ප ක්‍රම, ස්වාධීනත්වය, අනන්‍යතාව, ආවේණික බව, ප්‍රවණතා

[1] ජ්‍යෙෂ්ඨ කථිකාචාර්ය, උත්තර භාරතීය සංගීත අධ්‍යයනාංශය, සංගීත පීඨය, සෞන්දර්ය කලා විශ්ව විශ්වවිද්‍යාලය

# Session 12

| ID | Topic | Author |
|---|---|---|
| **MU/IRS/A/03** | In search of distinctive Sri Lankan music: Cyril de Silva Kulatillake | **Kamani Samarasinghe** |
| **MU/IRS/A/16** | Bulletproof Boy Scouts (BTS) as a Part of South Korea’s Cultural Diplomacy and Soft Power Strategy | **R. M. C. S. Ranasinghe** |
| **MU/IRS/A/20** | ළමා ලිංගික අපරාධ වාර්තාකරණයෙහි ලා ශ්‍රී ලාංකේය ජනමාධ්‍යයෙහි භාවිත විධික්‍රමයන්හි නෛතික උපයෝජන සක්‍රියතා | **හේනගේ දොන් එදිරිවීර ගුණසේකර** |
| **MU/IRS/A/35** | Visual tradition in dance and rituals on rock paintings and engravings | **R. Niluka Thilakarathne** |
| **MU/IRS/A/19** | Music activities among the Sri Lankan Moors of *Ampara* District | **K. M. Manoj Sanjeewa** |
| **MU/IRS/A/24** | Effectiveness of music therapy on the physical and mental development of children with special needs | **M. R. M. Karunarathna** |

# In search of distinctive Sri Lankan music: Cyril de Silva Kulatillake

**Kamani Samarasinghe** [1]

The history of Sri Lankan music is extensive and has changed substantially since then. Folk music from Sri Lanka portrays the diverse cultures and ethnicities of the country. Cyril de Silva Kulatillake was a pioneer in Sri Lankan folk music and made major contributions to the country's cultural heritage. This study aimed at studying and writing about Cyril de Silva Kulatillake as he would not only expand our knowledge about musical individuals but also enhance our understanding of music, culture, and the epistemological issues of music history, music biography, and ethnomusicology. The objectives of this study were to describe Kulatillake's musical beliefs, ideas, and preferences and to assess his impact on the strength of the genre. The case study method of qualitative research was used in this study. Data were collected from interviews, documents, autobiographies, and reports. Content analysis was used in evaluating the data. The results illustrated that Kulatillake provided folk music with a scientific basis and tied it to ethnomusicology. He was passionate about music, collected folk songs, recorded them, intelligently documented them, and rearranged them. He investigated musical expression among the public as a social activity in order to understand not only what music is but also what it signifies to its practitioners and audiences. He was gifted in music and had strong research, analytical, cultural awareness, and communication abilities. His research has not just been theoretical; he has also produced and created a number of works that draw on the rich tradition of native local music and dance, which have been highly welcomed by a grateful public. As a researcher, writer, pedagogue, artist, and administrator he followed in the footsteps of the great pioneer of musical science. The study concludes that Kulatillake traced cultural identity and pride, documented, taught, and presented it to national and international audiences, and preserved it for future generations. Future research should focus on the vision, philosophy, and methods of C. de S. Kulatilleke's remarkable contribution to the survival of folk music in Sri Lanka.

**Keywords:** Cyril de Silva Kulatillake, Sri Lankan ethnomusicologist, distinctive Sri Lankan music

[1] Department of Information Technology, Faculty of Dance & Drama kamani@vpa.ac.lk

# Bulletproof Boy Scouts (BTS) as a Part of South Korea's Cultural Diplomacy and Soft Power Strategy

**R. M. C. S. Ranasinghe**[1]

Today, K-pop culture, which is also known as the "Korean Wave" or "Hallyu" has been a global phenomenon throughout the world. It expands from television dramas, movies, fashion, food, popular music (K-pop), video games, tourism, and language. The main focus of this paper is to examine one of the main essences of the Korean Wave; Korean Pop music and idol culture and its impact on the world. Therefore, this research focuses on exploring the relationships between the spread of Korean pop music and social and political alternations in a global point of view. Using the popularity and influence of BTS, this research brings out the cultural diplomacy approaches related to non-state actors within the advancement of cross-cultural relations. Therefore, cultural diplomacy helps a state to acknowledge the foreign states which helps to stimulate mutual understanding. Music can be taken as a powerful tool for self-expression, social activism, and public diplomacy. Artists from all over the world produce and perform music that facilitates cross-cultural understanding and promotes global peace.

**Keywords:** Bulletproof Boy Scouts (BTS), Contemporary Music, Cultural Diplomacy, Korean Wave.

---

[1] Doctoral Candidate, Faculty of Graduate Studies, University of the Visual and Performing Arts.

# ළමා ලිංගික අපරාධ වාර්තාකරණයෙහි ලා ශ්‍රී ලාංකේය ජනමාධ්‍යයෙහි භාවිත විධික්‍රමයන්හි නෛතික උපයෝජන සක්‍රියතා

**ආචාර්ය එච්. ඩී. එදිරිවීර ගුණසේකර**[1]

ළමා ලිංගික අපරාධ බරපතල සමාජ ව්‍යසනයකි. එය මානව ප්‍රජාවේ යහපැවැත්මට බාධා එල්ල කරයි. ළමා ලිංගික අපරාධ පිළිබඳ ජනමාධ්‍ය වාර්තාකරණයද ප්‍රමිතියෙන් තොරය. එම වාර්තාකරණයහේතුවෙන් වින්දිත ළමයා විවිධ අංශවලින් පීඩාවට පත්වෙයි. මේ පර්යේෂණයේ ගැටලුව වන්නේ, ළමා ලිංගික අපරාධ පිළිබඳ ජනමාධ්‍ය වාර්තාකරණය ශ්‍රී ලාංකේය නෛතික සන්දර්භයට විශේෂිතව සිදුවන්නේ කෙසේද යන්නයි. (1995 අංක 22 දරන දණ්ඩ නීති සංග්‍රහය (සංශෝධන) පනත ප්‍රකාරව) ඒ ඇසුරින් සකසාගත් පර්යේෂණ ප්‍රශ්න හයක් (06) අධ්‍යයනය සඳහා පාදක කර ගැනිණි. ජෝර්ජ් ගාබ්නර්ගේ රෝපණ න්‍යාය සහ සිග්මන්ඩ් ෆ්‍රොයිඩ්ගේ මනෝවිශ්ලේෂණ න්‍යාය මත ගොඩ නැඟුණු මෙම පර්යේෂණයේ දත්ත රැස්කිරීම සඳහා ප්‍රශ්නාවලි ක්‍රමය, සම්මුඛ සාකච්ඡා ක්‍රමය හා ප්‍රත්‍යෙක අධ්‍යයන ක්‍රමය භාවිත කෙරිණි. ප්‍රශ්නාවලි ක්‍රමය යටතේ 500 දෙනෙකුගෙන් යුත් නියැදියක් තෝරා ගැනිණි. ප්‍රශ්නාවලිය ප්‍රශ්න 24 කින් සමන්විත වූ අතර ඊට ප්‍රමාණාත්මක ස්වරූපයේ ප්‍රශ්න මෙන්ම ගුණාත්මක ස්වරූපයේ ප්‍රශ්න ඇතුළත් විය. සම්මුඛ සාකච්ඡා ක්‍රමයේදී නීතිය, මනෝවිද්‍යාව, සමාජ විද්‍යාව, ජනමාධ්‍ය යන ක්ෂේත්‍රවල ප්‍රවීණයෝ දොළොස් දෙනෙක්ද (12), වෘත්තීය ජනමාධ්‍යවේදීහු දහ දෙනෙක්ද (10) සහභාගි කර ගැණුහ. ළමා ලිංගික අපරාධ සිදුවීම් විස්සකට (20) අදාළ මාධ්‍ය වාර්තා ප්‍රත්‍යෙක අධ්‍යයන ලෙස යොදා ගැනිණි. ප්‍රමාණාත්මක දත්ත විශ්ලේෂණය සඳහා සංඛ්‍යා විද්‍යාත්මක ක්‍රමයක් ද, ගුණාත්මක දත්ත විශ්ලේෂණය සඳහා විස්තරාත්මක ක්‍රමවේදය ද භාවිත කළ අතර, ඒ ඇසුරින් මතුකරගත් අනාවරණ පාදක කර ගනිමින් නිගමනවලට එළඹිණි. ළමා ලිංගික අපරාධ පිළිබඳ ජනමාධ්‍ය වාර්තාකරණයට අදාළ නීතිය 1995 අංක 22 දරන දණ්ඩ නීති සංග්‍රහය (සංශෝධන) පනතේ 365 (ඇ) වගන්තියේ අන්තර්ගතය. මෙම නීතියට අනුව ළමා ලිංගික අපරාධයකට ගොදුරු වන තැනැත්තාගේ අනන්‍යතාව හෙළිකළ නොහැකිය. ළමා ලිංගික අපරාධ වාර්තාකරණයට අදාළව පවතින නීතියට ජනමාධ්‍ය ආයතන සහ ජනමාධ්‍යවේදීන් අනුගත නොවීමට බලපාන සාධක රැසකි. මෙම ඒ අනුව පර්යේෂණය අවසානයේ උපන්‍යාසය සනාථ කරමින් එළඹි ප්‍රධාන නිගමනය වූයේ ළමා ලිංගික අපරාධ පිළිබඳ ජනමාධ්‍ය වාර්තාකරණය දණ්ඩ නීති සංග්‍රහයේ නෛතික ප්‍රතිපාදනවලට අනුකූලව සිදුනොවේ යන්නයි. ළමා ලිංගික අපරාධ පිළිබඳ ජනමාධ්‍ය වාර්තාකරණය සම්බන්ධව දැනට පවතින නීතිය සංශෝධනය කිරීමට අදාළ යෝජනාවලියක් සහ ළමා ලිංගික අපරාධ පිළිබඳ ජනමාධ්‍ය වාර්තාකරණය ප්‍රමිතිගත කිරීම සඳහා ඉදිරිපත් කරන යෝජනාවලියක් පර්යේෂණයෙහි අන්තර්ගතය.ළමා ලිංගික අපරාධ සම්බන්ධයෙන් ජනමාධ්‍ය වාර්තාකරණය සැලකීමේදී ඊට අදාළව පොදුවේ පිළිගත් සන්නිවේදන න්‍යායයක් නොවන අතර, එම හිඩැස පිරවීම වස් අපරාධ සන්නිවේදන භාවිත න්‍යායය නම් වූ යථාර්ථවාදී න්‍යායයක්ද යෝජනා කෙරේ.

**ප්‍රමුඛ පද** ඃ ළමා ලිංගික අපරාධ, වාර්තාකරණය, දණ්ඩ නීති සංග්‍රහය, රෝපණ න්‍යාය, ජනමාධ්‍ය

[1] ජ්‍යෙෂ්ඨ කථිකාචාර්ය, සෞන්දර්ය කලා විශ්ව විශ්වවිද්‍යාලය

# Visual tradition in dance and rituals on rock paintings and engravings

**Niluka Thilakarathne** [1]

Homo sapiens painted cave walls in 40, 000 years ago on cosmetic reasons with the aspect of sexual attraction in Europe (Methen, S, 2005). This art tradition developed as "shadow-picture" style in Southeast Spain in 20,000 - 12,000 B.C. defined as period of the "rock-shelter art". In 100,000 B.C. engraving and printing appeared with artistic signs in Early Aurignacian culture. Each period the rock art reflects the aesthetic and intellectual values of its age (Anati.E, 2008). During the 19th and 20th centuries attention was focused on Rock Paintings and Engravings (RPE) in Sri Lanka by few scholars. Bell, 1904: Bandaranayake and Jayasinghe, 1986: Manjusri, 1977: Somathilake, 2004: Paranavithana, 1971 after two centuries of providing attention on RPE in old world in 17th century. Therefore studying rock paintings and engravings is understanding of signs and symbols in the context of religions, myths, rituals, arts, languages... in a culture. The research problem is how illiterate people painted and engraved in rock shelters in the context of visual tradition of dance and rituals. The main argument is understanding the visual expressions of RPE by ancestors in the context of rituals and dance and used qualitative research method with primary data and secondary data.The analyzed data such as lines, colors, shapes, symbols that imprinted by the prehistoric people in rock shelters and engravings where presented correlation in between Semiology, Ecology and Structuralism and the visual tradition in dance and rituals and creativity of illiterate people as the research findings.

**Key Words:** Visual Tradition, Semiology, Ecology, Structuralism

[1] CDSK Archival and Research Unit, Faculty of Music, University of the Visual and Performing Arts

# Music activities among the Sri Lankan Moors of *Ampara* District

**K. M. Manoj Sanjeewa** [1]

Despite the rich musical traditions and popularity of music in all Islamic cultures, there is a widespread belief among Muslims that music is forbidden in Islam and should be avoided. The debate over the place of music in Islam has, in fact, centered on the question of whether music is permissible (halal) or forbidden (haram). Under this kind of atmosphere, how do the Sri Lankan Moors, who are Islamic devotees, relate to music? According to literary research, they participate in musical activities. The main purpose of this study is to find out what those musical activities are. The research is confined to Ampara district, where Sri Lankan Moors mostly live, and the data will be collected through interviews, participant observation and literature review while immersed in the field. This study will add new insights into the musical practice of the Sri Lankan Moors, the specificities, identities, and religious affiliations of the music, and the complexities of the music.

**Key words:** Islam, Music, Moors, Ampara District, Sri Lanka

[1] Lecturer, Department of Western Music, University of the Visual & Performing Arts

## Effects of music therapy on the physical and mental development of children with special needs.

**M. R. M. Karunarathna**[1]

Music is an universal Phenomena. It is now being recognized that listening to music can have a physical and spiritual effect on a person's physical and mental well-being. In the countries of the western world, music festivals can be used to listen to music as a treatment for epidemics and to relieve stress. Scientists have further investigated whether music can be used as a therapeutic tool for disease prevention. As a result of those researches, it has been confirmed that the 12 notes that include the vowels have a harmonious relationship with the human systems. It has been found that the person recovers from diseases by improving the functioning of the organs of the human body, improving the metabolism etc. Children with special needs can be referred to as a category of children who need to be given special attention physically and mentally. Alternative approaches are needed for their education as well as social dependence. This research problem is whether music therapy affects the physical and mental development of children with special needs. The main objective of this study is to contribute to the good physical and mental health of the individual through spiritual support. In addition to that, it explains the use of music therapy as a treatment method for the existing problems of physical and mental development of children with special needs. Furthermore, this research has focused on the effects of physical and mental functionality. Other than that, it inquires about the experiments using music to improve the performance of children with mental illnesses such as Autism, Down’s syndrome and Anxiety. It takes getting used to a medium of communication to notice changes in their behavior and to interact with others. For the children who are in a difficult condition to express their voice. As a result of musical activities, children with pronunciation difficulties have developed the ability to pronounce words. Qualitative and quantitative research method were used for this as mix method, under which secondary sources were books, journals, documents, interviews, field research were used for the research. The sample for this research, 15 no of children from Special Needs Development Center in Colombo Municipal Council have been selected and the children's actions have been studied over a period of one and a half years. At the end of this study, it

[1] Visiting Instructor, Faculty of Music, The University of Visual & Performing Arts

